AL/2015/25/S-I





**අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்**
**General Certificate of Education (Adv. Level) Examination, August 2015**

| | | |
|---|---|---|
| ඉතිහාසය | I | (I කොටස) |
| வரலாறு | I | (பகுதி I) |
| History | I | (Part I) |

**25 S I**

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

**ශ්‍රී ලංකාවේ ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1978 දක්වා**

විභාග අංකය: ................................

**උපදෙස්:**

* මෙම කොටස ප්‍රශ්න **40** කින් සමන්විත වේ. **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.
* එක් එක් ප්‍රශ්නයට ප්‍රතිචාර **පහ** බැගින් දී ඇති නමුදු නිවැරදි පිළිතුර වන්නේ **එකක්** පමණි. එම නිවැරදි පිළිතුර තෝරා, දී ඇති **උපදෙස් පරිදි ලකුණු කරන්න.**
* **මෙම කොටසට ලකුණු 40 ක් දෙනු ලැබේ.**
* කොටස් දෙකට ම මුළු කාලය **පැය තුනකි.** පිළිතුරු ලියා අවසන් වූ පසු, **I කොටස, II කොටසේ** පිළිතුරු පත් සමඟ **අමුණා භාර දෙන්න.**

## I කොටස

● අංක **1** සිට **5** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමඟ **නොගැළපේ.** එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන තුළ** ලියන්න.

**1.** (1) ඔනෙසික්‍රිටස් (2) මෙගස්තිනීස් (3) ප්ලිනි (4) කොස්මස් (5) වෙං හෝ (.........)

**2.** (1) කම්මාර දේව (2) චිත්තරාජ (3) කාලවේල (4) චේතියා (5) වලවාමුඛී (.........)

**3.** (1) නන්දිමිත්ත (2) වේළුසුමන (3) සූරනිමල (4) දීඝජන්තු (5) ඵුස්සදේව (.........)

**4.** (1) ශංකිලි (2) පූවිරාජ පණ්ඩාරම් (3) පෙරියපිල්ලෙ (4) අරිට්ට කීවෙණ්ඩු පෙරුමාල් (5) එදිරිමාන සිංහම් (.........)

**5.** (1) කෝල්බෲක් (2) මෝර්ගන් (3) මැනිං-ඩෙවොන්ෂයර් (4) ඩොනමෝර් (5) සෝල්බරි (.........)

● අංක **6** සිට **10** තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් එක යුගලයක පද එකිනෙකට **නොගැළපේ.** එම **නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන ඊට අදාළ **අංකය,** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**6.**
(1) කලා වැව - අනුරාධපුර දිස්ත්‍රික්කය
(2) තබ්බෝව වැව - පුත්තලම දිස්ත්‍රික්කය
(3) ඉරක්කාමම් වැව - මන්නාරම දිස්ත්‍රික්කය
(4) පරාක්‍රම සමුද්‍රය - පොළොන්නරුව දිස්ත්‍රික්කය
(5) සේනානායක සමුද්‍රය - අම්පාර දිස්ත්‍රික්කය (.........)

**7.**
(1) කාකවණ්ණ තිස්ස රජතුමා - විහාර මහා දේවී
(2) කුටකණ්ණ තිස්ස රජතුමා - අනුලා දේවී
(3) පළමුවැනි විජයබාහු රජතුමා - තිලෝකසුන්දරී
(4) පළමුවැනි විමලධර්මසූරිය රජතුමා - කුසුමාසන දේවී
(5) ශ්‍රී වික්‍රම රාජසිංහ රජතුමා - වෙන්කට රංගම්මා (.........)

**8.**
(1) නල්ලූර්හි කන්දසාමි කෝවිල - යාපනය
(2) තිරුකේතීශ්වරම් කෝවිල - කිලිනොච්චිය
(3) කෝනේශ්වරම් කෝවිල - ත්‍රිකුණාමලය
(4) මුන්නේස්සරම් කෝවිල - හලාවත
(5) බෑරැන්ඩි කෝවිල - සීතාවක (.........)

[දෙවැනි පිටුව බලන්න.

**9.** (1) මුල්ලේරියා සටන - ලොරෙන්සෝ ද අල්මේදා
(2) දන්තුරේ සටන - පේද්‍රෝ ලෝපෙස් ද සූසා
(3) බලන සටන - දොම් ජෙරොනිමෝ ද අසවේදු
(4) රන්දෙනිවල සටන - කොන්ස්තන්තීනු ද සා ද නොරොඤ්ඤා
(5) ගන්නෝරුව සටන - දියෝගු ද මේලෝ ද කැස්ත්‍රෝ (.........)

**10.** (1) විලෙම් ජේ. කෝස්ටර් - පළමුවැනි ලන්දේසි ආණ්ඩුකාරවරයා
(2) රාජාධි රාජසිංහ - පළමුවැනි නායක්කාර් රජතුමා
(3) ෆ්‍රෙඩ්රික් නෝර්ත් - පළමුවැනි බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරයා
(4) හෙන්රි මන්ක් මේසන් මුවර් - පළමුවැනි අග්‍රාණ්ඩුකාරවරයා
(5) විලියම් ගොපල්ලව - පළමුවැනි ජනාධිපතිවරයා (.........)

- අංක **11** සිට **15** තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරුවල දී ඇත. **Y** තීරුවේ දී ඇති නාම / ප්‍රකාශන / දින වකවානු **X** තීරුවේ දී ඇති ඒවා සමඟ කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නො වේ**. **Y** තීරුව, **X** තීරුව සමඟ ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත දී ඇති සංයෝග පෙළෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

**11.**

| X | Y |
|---|---|
| (i) කදම්බ නදී | A දැදුරු ඔය |
| (ii) ගෝණ නදී | B මැණික් ගඟ |
| (iii) ජජ්ජර නදී | C මල්වතු ඔය |
| (iv) වන නදී | D කලා ඔය |
| (v) කප්පකන්දර නදී | E වලවේ ගඟ |

(1) EDABC (2) DEACB (3) CBDAE (4) CDAEB (5) BEADC (.........)

**12.**

| X | Y |
|---|---|
| (i) දේවානම්පිය තිස්ස රාජ්‍ය සමය | A ධම්මධාතු නම් මහායාන ග්‍රන්ථය ගෙන ඒම |
| (ii) සිරිමේඝවණ්ණ රාජ්‍ය සමය | B බුදුන් වහන්සේගේ දන්ත ධාතුව වැඩම කර වීම |
| (iii) ගජබාහු රාජ්‍ය සමය | C ශ්‍රී මහා බෝධියේ ශාඛාවක් වැඩම කර වීම |
| (iv) සිලාකාල රාජ්‍ය සමය | D පත්තිනි ඇදහිල්ල හඳුන්වා දීම |
| (v) කීර්ති ශ්‍රී රාජසිංහ රාජ්‍ය සමය | E උපසම්පදාව යළි පිහිටුවීම |

(1) EDABC (2) DEACB (3) CBDAE (4) CDAEB (5) BEADC (.........)

**13.**

| X | Y |
|---|---|
| (i) ථූපවංසය | A දෙවිරද දම් පසඟිනාවන් |
| (ii) රසවාහිනී | B ශ්‍රී රාහුල හිමි |
| (iii) දළදා සිරිත | C මයිල්වාගනම් |
| (iv) කාව්‍යශේඛරය | D වේදේහ හිමි |
| (v) යාල්පාන වෛපව මාලෛ | E වාචිස්සර හිමි |

(1) EDABC (2) DEACB (3) CBDAE (4) CDAEB (5) BEADC (.........)

**14.**

| X | Y |
|---|---|
| (i) සිල්වත් සමාගම | A එච්.එස්. ඔල්කොට් |
| (ii) සයිව ප්‍රගාශ සබෛයි | B වැලිවිට ශ්‍රී සරණංකර හිමි |
| (iii) බෞද්ධ පරමවිඥානාර්ථ සමාගම | C ඩී. බී. ජයතිලක |
| (iv) මහා බෝධි සමාගම | D අනගාරික ධර්මපාල |
| (v) තරුණ බෞද්ධ සංගමය | E ආරුමුග නාවලර් |

(1) EDABC (2) DEACB (3) CBDAE (4) CDAEB (5) BEADC (.........)

**15.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | එඩ්වඩ් බාන්ස් | A | කොළඹ කෞතුකාගාරය පිහිටුවීම |
| (ii) | හර්කියුලීස් රොබින්සන් | B | යුනිවසිටි කොලීජිය පිහිටුවීම |
| (iii) | විලියම් ග්‍රෙගරි | C | කොළඹ-නුවර මාර්ගය ඉදිකිරීම |
| (iv) | හෙන්රි මැකලම් | D | මහ නගර සභා පිහිටුවීම |
| (v) | විලියම් මැනිං | E | කෘෂිකර්ම දෙපාර්තමේන්තුව පිහිටුවීම |

(1) EDABC (2) DEACB (3) CBDAE (4) CDAEB (5) BEADC (.........)

- අංක **16** සිට **20** තෙක් සෑම ප්‍රශ්නයකට ම ගැළපෙන පිළිතුර තෝරා, ඊට අදාළ **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**16. ශ්‍රී ලංකාවේ රජ පෙළපත්වල නිවැරදි අනුපිළිවෙළ අඩංගු වන්නේ පහත දැක්වෙන කවර වරණයේ ද?**

(1) මෞර්ය, මානවම්ම, ලම්බකණ්ණ, දඹදෙණි, නායක්කාර්
(2) මානවම්ම, මෞර්ය, ලම්බකණ්ණ, දඹදෙණි, නායක්කාර්
(3) මෞර්ය, ලම්බකණ්ණ, දඹදෙණි, මානවම්ම, නායක්කාර්
(4) මෞර්ය, මානවම්ම, දඹදෙණි, ලම්බකණ්ණ, නායක්කාර්
(5) මෞර්ය, ලම්බකණ්ණ, මානවම්ම, දඹදෙණි, නායක්කාර් (.........)

**17. පුරාණ ශ්‍රී ලංකාවේ නිර්මාණය කරන ලද වැව්වල නිවැරදි අනුපිළිවෙළ අඩංගු වන්නේ පහත දැක්වෙන කවර වරණයේ ද?**

(1) බසවක්කුලම වැව, මින්නේරිය වැව, නාච්චදූව වැව, කන්තලේ වැව, පරාක්‍රම සමුද්‍රය
(2) බසවක්කුලම වැව, මින්නේරිය වැව, පරාක්‍රම සමුද්‍රය, නාච්චදූව වැව, කන්තලේ වැව
(3) මින්නේරිය වැව, බසවක්කුලම වැව, කන්තලේ වැව, නාච්චදූව වැව, පරාක්‍රම සමුද්‍රය
(4) බසවක්කුලම වැව, කන්තලේ වැව, මින්නේරිය වැව, නාච්චදූව වැව, පරාක්‍රම සමුද්‍රය
(5) බසවක්කුලම වැව, නාච්චදූව වැව, මින්නේරිය වැව, කන්තලේ වැව, පරාක්‍රම සමුද්‍රය (.........)

**18. උඩරට රජවරුන්ගේ නිවැරදි අනුපිළිවෙළ අඩංගු වන්නේ පහත දැක්වෙන කවර වරණයේ ද?**

(1) පළමුවැනි විමලධර්මසූරිය, දෙවැනි විමලධර්මසූරිය, දෙවැනි රාජසිංහ, සෙනරත්, ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ
(2) පළමුවැනි විමලධර්මසූරිය, දෙවැනි විමලධර්මසූරිය, සෙනරත්, දෙවැනි රාජසිංහ, ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ
(3) පළමුවැනි විමලධර්මසූරිය, සෙනරත්, දෙවැනි රාජසිංහ, දෙවැනි විමලධර්මසූරිය, ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ
(4) පළමුවැනි විමලධර්මසූරිය, දෙවැනි රාජසිංහ, දෙවැනි විමලධර්මසූරිය, සෙනරත්, ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ
(5) පළමුවැනි විමලධර්මසූරිය, සෙනරත්, දෙවැනි විමලධර්මසූරිය, දෙවැනි රාජසිංහ, ශ්‍රී වීර පරාක්‍රම නරේන්ද්‍රසිංහ
(.........)

**19. දහනවවැනි සියවසේ මුල් භාගයේ සිටි බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරුන්ගේ නිවැරදි අනුපිළිවෙළ අඩංගු වන්නේ පහත දැක්වෙන කවර වරණයේ ද?**

(1) තෝමස් මේට්ලන්ඩ්, රොබට් බ්‍රවුන්රිග්, විල්මට් හෝර්ටන්, එඩ්වඩ් බාන්ස්, ස්ටුවට් මැකෙන්සි
(2) රොබට් බ්‍රවුන්රිග්, තෝමස් මේට්ලන්ඩ්, ස්ටුවට් මැකෙන්සි, එඩ්වඩ් බාන්ස්, විල්මට් හෝර්ටන්
(3) තෝමස් මේට්ලන්ඩ්, රොබට් බ්‍රවුන්රිග්, එඩ්වඩ් බාන්ස්, ස්ටුවට් මැකෙන්සි, විල්මට් හෝර්ටන්
(4) රොබට් බ්‍රවුන්රිග්, තෝමස් මේට්ලන්ඩ්, එඩ්වඩ් බාන්ස්, ස්ටුවට් මැකෙන්සි, විල්මට් හෝර්ටන්
(5) තෝමස් මේට්ලන්ඩ්, රොබට් බ්‍රවුන්රිග්, එඩ්වඩ් බාන්ස්, විල්මට් හෝර්ටන්, ස්ටුවට් මැකෙන්සි (.........)

**20. ශ්‍රී ලංකාවේ අගමැතිවරුන්ගේ නිවැරදි අනුපිළිවෙළ අඩංගු වන්නේ පහත සඳහන් කවර වරණයේ ද?**

(1) ඩඩ්ලි සේනානායක, ඩී. එස්. සේනානායක, එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක, ජෝන් කොතලාවල, ඩබ්ලිව්. දහනායක
(2) ඩී. එස්. සේනානායක, ඩඩ්ලි සේනානායක, එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක, ජෝන් කොතලාවල, ඩබ්ලිව්. දහනායක
(3) ඩී. එස්. සේනානායක, ඩඩ්ලි සේනානායක, ඩබ්ලිව්. දහනායක, එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක, ජෝන් කොතලාවල
(4) ඩී. එස්. සේනානායක, ඩඩ්ලි සේනානායක, ජෝන් කොතලාවල, එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක, ඩබ්ලිව්. දහනායක
(5) ඩී. එස්. සේනානායක, ජෝන් කොතලාවල, ඩඩ්ලි සේනානායක, එස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාරනායක, ඩබ්ලිව්. දහනායක
(.........)

22675

- අංක **21** සිට **25** තෙක් සෑම ප්‍රශ්නයකට ම එක් මාතෘකාවක් යටතේ කරුණු **පහ** බැගින් සපයා ඇත. එම කරුණු අතුරෙන් **එකක් අදාළ මාතෘකාවට නොගැළපේ**. එය තෝරා, ඊට අදාළ **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**21. වාරි කර්මාන්ත**

(1) මුල් ම වාරි කර්මාන්ත ගම් වැව් නිර්මාණය කිරීම සමඟ ආරම්භ විය.
(2) තිසා වැව දේවානම්පිය තිස්ස රජු විසින් කරවන ලදැ'යි සැලකේ.
(3) ලොකු වැව් නිර්මාණය කිරීම වසභ රාජ්‍ය සමයේ දී ආරම්භ විය.
(4) පුරාණ වාරි කර්මාන්තවල වර්ධනයේ උච්චතම අවස්ථාව සමුද්‍රවාපියෙන් සලකුණු කෙරේ.
(5) සියලු වැව් ගංගාවලින් පෝෂණය කරනු ලැබේ. (.........)

**22. පළමුවැනි විජයබාහු රජතුමා**

(1) පළමුවැනි විජයබාහු රජතුමා ළාබාල අවධියේ කිත්ති කුමාරයා නමින් හැඳින්විණි.
(2) බුද්ධරාජ නම් ජන ප්‍රධානියකු පළමුවැනි විජයබාහු රජතුමාට ආධාර කළේ ය.
(3) චෝළයන් ශ්‍රී ලංකාවෙන් පළවා හැර, පළමුවැනි විජයබාහු රජතුමා දිවයින එක්සේසත් කළේ ය.
(4) පළමුවැනි විජයබාහු රජතුමා රාමඤ්ඤ දේශය ආක්‍රමණය කළේ ය.
(5) පළමුවැනි විජයබාහු රජතුමා පොළොන්නරුව සිය අගනුවර කර ගත්තේ ය. (.........)

**23. ගම්පොළ රාජධානිය**

(1) ගම්පොළ පළමුවැනි පාලකයා වූයේ සිව්වැනි පරාක්‍රමබාහු රජතුමා ය.
(2) සේනාලංකාධිකාර යනු ගම්පොළ රාජ්‍ය සමයේ සිටි බලවත් ප්‍රභූ පවුලකි.
(3) ආර්ය චක්‍රවර්ති නම් පාලකයා ගම්පොළ රාජධානිය ආක්‍රමණය කළේ ය.
(4) ගඩලාදෙණිය විහාරය ගම්පොළ යුගයේ දී නිර්මාණය කරනු ලැබී ය.
(5) මයුර සන්දේශය ගම්පොළ යුගයේ දී රචනා කරන ලදී. (.........)

**24. බ්‍රිතාන්‍යයන් යටතේ වතු ආර්ථිකය**

(1) කෝල්බෲක්-කැමරන් ප්‍රතිසංස්කරණ වතු ආර්ථිකයේ වර්ධනයට මඟ පෑදී ය.
(2) 1880 තෙක් වඩාත් ම වැදගත් වාණිජ බෝගය වූයේ කෝපි ය.
(3) හෙන්රි වෝඩ් විසින් පළමුවැනි කෝපි වත්ත ආරම්භ කරනු ලැබී ය.
(4) වතු වගාවේ නැඟීම ප්‍රවාහන පද්ධතියේ වර්ධනයක් ඇති වීමට හේතු විය.
(5) වතු වගාව ප්‍රධාන වශයෙන් සංක්‍රමණික ශ්‍රමය මත පදනම් විය. (.........)

**25. පොන්නම්බලම් අරුණාචලම්**

(1) විශිෂ්ට සිවිල් සේවකයෙක් විය.
(2) දේශපාලන ප්‍රතිසංස්කරණ සම්බන්ධයෙන් විශාල උනන්දුවක් දැක් විය.
(3) විශ්වවිද්‍යාලයක් පිහිටුවීම සඳහා උද්ඝෝෂණය කළේ ය.
(4) යාපනයේ හින්දු විද්‍යාලය පිහිටු විය.
(5) ලංකා ජාතික සංගමයේ ප්‍රථම සභාපතිවරයා විය. (.........)

- අංක **26** සිට **30** තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති **(A), (B), (C)** සහ **(D)** යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක් හෝ කිහිපයක් හෝ** නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර හෝ තෝරා,

**(A)** සහ **(B)** පමණක් නිවැරදි නම් .................................... **1 ද,**
**(B)** සහ **(C)** පමණක් නිවැරදි නම් .................................... **2 ද,**
**(C)** සහ **(D)** පමණක් නිවැරදි නම් .................................... **3 ද,**
**(A)** සහ **(C)** පමණක් නිවැරදි නම් .................................... **4 ද,**
ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි නම් ..........**5 ද, වරහන තුළ** ලියන්න.

| **උපදෙස් සම්පිණ්ඩනය** | | | | |
|---|---|---|---|---|
| **1** | **2** | **3** | **4** | **5** |
| **(A)** සහ **(B)** පමණක් නිවැරදි ය. | **(B)** සහ **(C)** පමණක් නිවැරදි ය. | **(C)** සහ **(D)** පමණක් නිවැරදි ය. | **(A)** සහ **(C)** පමණක් නිවැරදි ය. | ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් නිවැරදි ය. |

**26. ශ්‍රී ලංකාවේ මුල් ජනාවාස පිහිටුවීම සම්බන්ධයෙන් පහත දැක්වෙන ප්‍රකාශය/ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) ඉන්දියාවේ ප්‍රදේශ කිහිපයකින් පැමිණි සංක්‍රමණික පිරිස් විසින් මුල් ජනාවාස පිහිටුවනු ලැබී ය.
(B) මුල් ජනාවාස ගංගා නිම්න ආශ්‍රිත ව පිහිටුවන ලදී.
(C) මුල් ම ජනාවාසය, පණ්ඩුකාභය රාජ්‍ය සමයේ දී පිහිටුවනු ලැබී ය.
(D) ආදිතම යුගයේ දී ඉන්දියාව හා ශ්‍රී ලංකාව අතර වෙළඳ සබඳතා කිසිවක් නොවී ය. (.........)

[පස්වැනි පිටුව බලන්න.

**27. ශ්‍රී ලංකාවේ රාජත්වය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය / ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) දේවානම්පිය තිස්ස රාජ්‍ය සමයේ දී මෞර්ය අභිෂේකය ශ්‍රී ලංකාවට හඳුන්වා දෙන ලදී.
(B) රාජත්වයේ උරුමය මුළුමනින් ම පියාගෙන් පුතාට මාරු විය.
(C) 'භූපති' නම් විරුදය රජවරුන් සඳහා භාවිත කෙරිණ.
(D) අනුරාධපුර යුගයේ දී කිසිදු කාන්තාවක් රාජත්වයට පත් නොවී ය. (.........)

**28. පොළොන්නරු යුගයේ ගෘහ නිර්මාණ ශිල්පය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය / ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) පළමුවැනි විජයබාහු රජතුමා පොළොන්නරු යුගයේ වැඩි ම ගොඩනැගිලි සංඛ්‍යාවක් ඉදි කළැයි සැලකේ.
(B) පළමුවැනි පරාක්‍රමබාහු රජතුමා ආගමික ගොඩනැගිලි පමණක් ඉදි කළේ ය.
(C) පොළොන්නරු ගෘහ නිර්මාණ සම්බන්ධයෙන් හින්දු බලපෑම පැහැදිලිව ම හඳුනාගත හැකි ය.
(D) ගඩොල් බහුල ව භාවිත කරන ලදී. (.........)

**29. සීතාවක රාජ්‍යය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය / ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) 1521 විජයබා කොල්ලයෙන් පසු සීතාවක රාජ්‍යය ආරම්භ විය.
(B) සීතාවක පළමුවැනි පාලකයා මායාදුන්නේ රජතුමා ය.
(C) පළමුවැනි රාජසිංහ විසින් උඩරට ප්‍රදේශ සීතාවක රාජ්‍යයට ඈඳා ගනු ලැබී ය.
(D) පළමුවැනි රාජසිංහ රජතුමා බුද්ධාගමට ඉමහත් සේවයක් ඉටු කළේ ය. (.........)

**30. පෘතුගීසීන් අනුගමනය කළ ආර්ථික ප්‍රතිපත්තිය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය / ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) ස්වකීය ආර්ථික කටයුතු සඳහා පෘතුගීසිහු සාම්ප්‍රදායික සිංහල යාන්ත්‍රණය භාවිත නොකළහ.
(B) පෘතුගීසි ආර්ථික ප්‍රතිපත්තියේ ප්‍රධාන අරමුණ වූයේ කුරුඳු ලබා ගැනීම ය.
(C) පෘතුගීසිහු තෝම්බු සකස් කළහ.
(D) පෘතුගීසිහු වාණිජ බෝගයක් ලෙස කෝපි වගාව ව්‍යාප්ත කළහ. (.........)

● අංක **31** සිට **35** තෙක් ප්‍රශ්නවලට නිවැරදි පිළිතුර තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**31. මාගම පළමුවැනි පාලකයා කවු ද?**

(1) උත්තිය (2) මහාසිව (3) සූරතිස්ස
(4) මහානාග (5) අසේල (.........)

**32. නිශ්ශංකමල්ල රජතුමා මුහුණ දුන් අභියෝග කවරේ ද?**

(1) චෝළ ආක්‍රමණය (2) ගොවි වංශිකයන්ගෙන් එල්ල වූ අභියෝගය
(3) තීය බ්‍රාහ්මණයාගේ කැරැල්ල (4) යාපන පාලකයන්ගෙන් එල්ල වූ තර්ජන
(5) චන්ද්‍රබානු ආක්‍රමණය (.........)

**33. සපුමල් කුමාරයා විසින් පරාජය කරන ලද ආර්ය චක්‍රවර්ති පාලකයා කවු ද?**

(1) ජයවීර ශිංගෛයාරියන් (2) කුණවීර ශිංගෛයාරියන්
(3) කණකශූරිය ශිංගෛයාරියන් (4) පරරාජශේකරම්
(5) ශංකිලි (.........)

**34. සිහසුනට පත් වීමට පෙර පළමුවැනි විමලධර්මසූරිය රජතුමා හඳුන්වන ලද්දේ කුමන නමකින් ද?**

(1) රයිගම් බණ්ඩාර (2) දොම් ජුවාන් පෙරිය බණ්ඩාර
(3) කරල්ලියද්දේ බණ්ඩාර (4) යමසිංහ බණ්ඩාර
(5) දොම් ජුවාන් කොනප්පු බණ්ඩාර (.........)

**35. 1848 බ්‍රිතාන්‍ය විරෝධී අරගලය ඇති වන විට සිටි බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරයා කවු ද?**

(1) ටොරිංටන් (2) කැම්බල් (3) ඇන්ඩර්සන්
(4) වෝඩ් (5) රොබින්සන් (.........)

[හයවැනි පිටුව බලන්න.

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළ ව ප්‍රකාශ දෙක බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැ'යි තෝරා ඊට අදාළ **අංකය වරහන තුළ** ලියන්න.

| | පළමුවැනි ප්‍රකාශය | දෙවැනි ප්‍රකාශය |
|---|---|---|
| **1.** | නිවැරදි ය. | වැරදි ය. |
| **2.** | නිවැරදි ය. | නිවැරදි ය. |
| **3.** | වැරදි ය. | වැරදි ය. |
| **4.** | වැරදි ය. | නිවැරදි ය. |
| **5.** | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| | පළමුවැනි ප්‍රකාශය | දෙවැනි ප්‍රකාශය | |
|---|---|---|---|
| **36.** | පළමුවැනි නිකාය භේදය සද්ධාතිස්ස රාජ්‍ය සමයේ දී සිදු විය. | සංඝ සංවිධානය තුළ එක්සත් බවක් ඇති කළ පළමුවැනි විජයබාහු රජතුමා කතිකාවතක් හෙවත් විනය ව්‍යවස්ථා මාලාවක් ප්‍රකාශයට පත් කළේ ය. | (.........) |
| **37.** | බදුල්ල ටැම් ලිපිය වෙළඳ ගමක පාලනය පිළිබඳ නීතිරීති වාර්තා කරයි. | සත්මහල් ප්‍රාසාදය නිශ්ශංකමල්ල රජතුමා විසින් කරවන ලදැයි විශ්වාස කෙරේ. | (.........) |
| **38.** | 'ශ්‍රී ලංකාව ලෞකික හා ආධ්‍යාත්මික වශයෙන් ජය ගැනීම' (The Temporal and Spiritual Conquest of Ceylon) නම් සුප්‍රසිද්ධ ග්‍රන්ථය ෆර්නාඕ ද ක්වේරෝස් පියතුමා විසින් රචනා කරන ලදී. | ශ්‍රී ලංකාවේ මුහුදුබඩ පළාත්වල පැවැති ලන්දේසි පාලනයෙන් උද්ගත වූ කැපීපෙනෙන ප්‍රතිඵලයක් වූයේ රෝමානු කතෝලික ආගම හඳුන්වා දීමයි. | (.........) |
| **39.** | කලින් අවධියේ දී භාණ්ඩ හුවමාරුව සමග සම්බන්ධව පැවැති වෙළෙඳපොළ ගණුදෙනු දහනවවැනි සියවස තුළ දී වැඩි වැඩියෙන් මුදල් ගණුදෙනුවල ස්වරූපයක් ගත්තේ ය. | බ්‍රිතාන්‍යයන් යටතේ ආර්ථිකය තුළ මූල්‍යකරණයේ වර්ධනයක් දක්නට ලැබුණු අතර දහඅටවැනි සියවසේ දී සීමාසහිත මට්ටමකින් පැවැති මුදල් භාවිතය දහනවවැනි සියවසේ දී ප්‍රමාණය හා අනුපාතය යන දෙයාකාරයෙන් ම වර්ධනය විය. | (.........) |
| **40.** | ජාති මූල නියෝජන ක්‍රමය අවලංගු කිරීමට ඩොනමෝර් කොමිසම යෝජනා කළේ ය. | නාමික විධායකයක් සහිත ද්වි මණ්ඩල ව්‍යවස්ථාදායකයක් ඩොනමෝර් කොමිසම විසින් යෝජනා කරන ලදී. | (.........) |

* *

[හත්වැනි පිටුව බලන්න.

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

| | | |
|---|---|---|
| ඉතිහාසය | I | (II කොටස) |
| வரலாறு | I | (பகுதி II) |
| History | I | (Part II) |

**25 S I**

**ශ්‍රී ලංකාවේ ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1978 දක්වා**

**උපදෙස්:**

※ **පළමුවන** ප්‍රශ්නයටත් තවත් ප්‍රශ්න **තුනකටත්** පිළිතුරු සපයන්න.

(**පළමුවන** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **ශ්‍රී ලංකාවේ දළ සිතියමක්** සපයා ඇත.)

## II කොටස

1. ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.** ඒවායින් කැමති **දෙකක්** පිළිබඳ ව කෙටි ඓතිහාසික සටහන් ලියන්න.

   (i) නාගදීප (ii) ගෝණ නදී (iii) නාච්චදූව වැව (iv) ගාල්ල
   (v) මහනුවර (vi) මඩකලපුව (vii) මල්වාන (viii) ඌව පළාත

   (නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු **01** බැගිනි; කෙටි ඓතිහාසික සටහනකට ලකුණු **05** බැගිනි)

2. "මහාසේන රාජ්‍යසමයේ අවසානය තෙක් ශ්‍රී ලංකාවේ ඉතිහාසය හැදෑරීමෙහි ලා වංසකථා සුවිශේෂී වැදගත්කමකින් යුක්ත වේ."

   (i) දැනට ඉතිරි වී තිබෙන ආදිතම වංසකථාව කුමක් ද? (ලකුණු 01 යි)
   (ii) මහාවංසයේ කතුවරයා සහ එය රචිත කාලය නම් කරන්න. (ලකුණු 02 යි)
   (iii) අනුරාධපුර යුගයේ රචිත වංසකථා පිළිබඳ සටහනක් ලියන්න. (ලකුණු 04 යි)
   (iv) ඉහත සඳහන් ප්‍රකාශය විචාරාත්මක ව විමසන්න. (ලකුණු 07 යි)

3. වට්ටගාමණී අභය රාජ්‍යසමයේ වැදගත්කම පහත දැක්වෙන මාතෘකා යටතේ පරීක්ෂා කරන්න.

   (i) රජු මුහුණ දුන් දේශීය හා විදේශීය අභියෝග සහ එතුමා ඒවා ජයගත් අන්දම
   (ii) අභයගිරි විහාරය පිහිටුවීම
   (iii) ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කිරීම (ලකුණු 14 යි)

4. අනුරාධපුර රාජධානියේ පරිහානියට හා බිඳවැටීමට තුඩු දුන් ප්‍රධාන සාධක විචාරාත්මක ව විමසන්න. (ලකුණු 14 යි)

5. පළමුවැනි පරාක්‍රමබාහු රජතුමාගේ කාර්ය සාඵල්‍යය පහත දැක්වෙන මාතෘකා අතුරෙන් **දෙකක්** ඇසුරෙන් සාකච්ඡා කරන්න.

   (i) දිවයින එක්සේසත් කිරීම
   (ii) ආගමික සේවය
   (iii) වාරි කටයුතු හා ආර්ථික සංවර්ධනය
   (iv) විදේශ සම්බන්ධතා (එක් මාතෘකාවකට ලකුණු 07 බැගිනි)

6. ශ්‍රී ලංකාවේ මුහුදුබඩ පළාත්වල පෘතුගීසීන් හා ලන්දේසීන් අනුගමනය කළ පරිපාලන ප්‍රතිපත්ති පහත දැක්වෙන අංශ ඇසුරෙන් සංසන්දනාත්මක ව පරීක්ෂා කරන්න.

   (i) අරමුණු (ii) මධ්‍ය පාලනය (iii) ප්‍රාදේශීය පරිපාලනය (ලකුණු 14 යි)

7. "උඩරට ගිවිසුමෙන් දෙන ලද පොරොන්දු ඉටු නොවීම නිසා උඩරටියන් තුළ හටගත් බලාපොරොත්තු සුන්වීම, 1817-1818 බ්‍රිතාන්‍ය විරෝධී සටන ඇතිවීමට තුඩු දුන් ප්‍රධාන සාධකය විය."

   (i) බ්‍රිතාන්‍යයන් විසින් උඩරට රාජධානිය අල්ලා ගනු ලැබීමට ආසන්න සමයේ එම රාජධානිය සමග සම්බන්ධකම් පවත්වාගෙන ගිය ඉංග්‍රීසි ජාතික නිලධාරියා නම් කරන්න. (ලකුණු 01 යි)
   (ii) උඩරට ගිවිසුම අත්සන් කළ බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරයා සහ උඩරට ප්‍රභූවරයකු නම් කරන්න. (ලකුණු 02 යි)
   (iii) උඩරට ගිවිසුමේ අන්තර්ගත කරුණු සැකෙවින් දක්වන්න. (ලකුණු 04 යි)
   (iv) ඉහත සඳහන් ප්‍රකාශය විචාරාත්මක ව විමසන්න. (ලකුණු 07 යි)

[ අටවැනි පිටුව බලන්න.

**8.** **එක්කෝ (A)** කොටසට **නැතහොත් (B)** කොටසට පමණක් පිළිතුරු සපයන්න.

**(A)** කෝල්බෲක් - කැමරන් කොමිසම විසින් යෝජනා කරන ලද ආර්ථික ප්‍රතිසංස්කරණවල වැදගත්කම පරීක්ෂා කරන්න. (ලකුණු 14 යි)

**(B)** දහනවවැනි සියවසේ දෙවන භාගයේ ඇති වූ ආගමික හා සංස්කෘතික පුනර්ජීවනයේ කැපීපෙනෙන ලක්ෂණ පරීක්ෂා කරන්න. (ලකුණු 14 යි)

**9.** පහත සඳහන් මාතෘකා අතුරෙන් ඕනෑම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ ව කෙටි සටහන් ලියන්න.

(i) දෙවැනි පරාක්‍රමබාහු රජතුමා

(ii) කෝට්ටේ යුගයේ සාහිත්‍යය

(iii) පෘතුගීසීන් හා යාපනය රාජධානිය

(iv) නායක්කාර් පෙළපත

(v) රාජ්‍ය මන්ත්‍රණ සභාව

(vi) 1972 ජනරජ ව්‍යවස්ථාව (එක් සටහනකට ලකුණු 07 බැගිනි)

* * *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

ඉතිහාසය I
வரலாறு I
History I

25 S

ප්‍රශ්න අංකය / வினா இல. / Question No. 1

විභාග අංකය / சுட்டெண் / Index No. ..................................



අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

ඉතිහාසය II (I කොටස)
வரலாறு II (பகுதி I)
History II (Part I)

25 - A | S | II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

ඉන්දියා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1206 දක්වා

විභාග අංකය: ..................................

**උපදෙස්:**

- ※ මෙම කොටස ප්‍රශ්න **40** කින් සමන්විත වේ. **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.
- ※ එක් එක් ප්‍රශ්නයට ප්‍රතිචාර **පහ** බැගින් දී ඇති නමුදු නිවැරදි පිළිතුර වන්නේ **එකක්** පමණි. එම නිවැරදි පිළිතුර තෝරා, දී ඇති **උපදෙස් පරිදි ලකුණු කරන්න.**
- ※ **මෙම කොටසට ලකුණු 40 ක් දෙනු ලැබේ.**
- ※ කොටස් දෙකට ම මුළු කාලය **පැය තුනකි.** පිළිතුරු ලියා අවසන් වූ පසු, **I කොටස, II කොටසේ** පිළිතුරු පත්‍ර සමඟ **අමුණා භාර දෙන්න.**

## I කොටස

- අංක **1** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමඟ **නොගැළපේ.** එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන තුළ** ලියන්න.

**1.** (1) යමුනා (2) සත්ලෙජ් (3) බියස් (4) රාවි (5) චෙනබ් (.........)

**2.** (1) මල්ල (2) කෝලිය (3) කෝසල (4) විදේහ (5) ශාක්‍ය (.........)

**3.** (1) කාල්සි සෙල්ලිපිය (2) සොපාරා සෙල්ලිපිය (3) ධෞලි සෙල්ලිපිය (4) නාසික් සෙල්ලිපිය (5) ගිර්නාර් සෙල්ලිපිය (.........)

**4.** (1) හර්යංක (2) සිසුනාග (3) නන්ද (4) මෞර්ය (5) ශක (.........)

**5.** (1) මහේන්ද්‍ර (2) කුබේරනාගා (3) ව්‍යාඝ්‍රරාජ (4) ස්වාමිදත්ත (5) විෂ්ණුගෝප (.........)

**6.** (1) රත්නාවලී (2) නාගානන්ද (3) ප්‍රියදර්ශිකා (4) මාලවිකාග්නි මිත්‍ර (5) හර්ෂ චරිත (.........)

**7.** (1) දෙවනපිය (2) නාරායන (3) කවිරාජ් (4) පරමේශ්වර (5) පරමභට්ටාරක (.........)

**8.** (1) වසුමිත්‍ර (2) අශ්වඝෝෂ (3) වසුබන්ධු (4) නාගර්ජුන (5) කාත්‍යායන (.........)

**9.** (1) වත්සරාජ (2) ධ්‍රැව (3) නාගභට (4) හර්ෂවර්ධන (5) ධර්මපාල (.........)

**10.** (1) රාෂ්ට්‍ර (2) වලනාඩු (3) මණ්ඩලම් (4) නාඩු (5) කුරම් (.........)

[දෙවැනි පිටුව බලන්න.

- අංක **11** සිට **15** තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් එක යුගලයක පද එකිනෙකට **නොගැළපේ.** එම **නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන ඊට අදාළ **අංකය,** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**11.** (1) වජ්ජි - වෛසාලි
(2) වත්ස - කෞෂාම්බි
(3) කුරු - පංචාල
(4) අංග - චම්පා
(5) සූරසේන - මථුරා (.........)

**12.** (1) සිමුක - සාතවාහන
(2) ගොන්ඩොෆර්නස් - පාර්තියන්
(3) පළමුවැනි ස්ට්‍රාටෝ - යවන
(4) නහපාන - ශක
(5) වෂ්ටන - කාන්ව (.........)

**13.** (1) මස්කි සෙල්ලිපිය - අශෝක
(2) ගාන්ධාර සෙල්ලිපිය - කනිෂ්ක
(3) හිටරි සෙල්ලිපිය - ස්කන්ධගුප්ත
(4) හතිගුම්පා සෙල්ලිපිය - ඛාරවේල
(5) අයිහෝලේ සෙල්ලිපිය - දෙවැනි පුලකේශීන් (.........)

**14.** (1) චේදි - කාලිංග
(2) චෝළ - මදුරෙයි
(3) මෛත්‍රක - වලභි
(4) පාල - බෙංගාලය
(5) පුෂ්‍යභූති - ථානේෂ්වර් (.........)

**15.** (1) පානිණි - අෂ්ටාධ්‍යායි
(2) පතංජලි - මහාභාෂ්‍ය
(3) අශ්වඝෝෂ - සාරිපුත්‍ර ප්‍රකරණ
(4) භාස - ස්වප්න වාසවදත්තා
(5) කාලිදාස - දශකුමාර චරිත (.........)

- අංක **16** සිට **20** තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරුවල දී ඇත. **Y** තීරුවේ දී ඇති නාම / ප්‍රකාශන / දින වකවානු **X** තීරුවේ දී ඇති ඒවා සමඟ කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නො වේ. Y** තීරුව, **X** තීරුව සමඟ ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත ඇති සංයෝග පහෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

**16.**

| X | Y |
|---|---|
| (i) කාවේරි | A මොහෙන්ජෝදාරෝ |
| (ii) නර්මදා | B භාරුකච්ඡ |
| (iii) සින්ධු | C කනෞජ් |
| (iv) යමුනා | D තංජෝර් |
| (v) ගංගා | E ඉන්ද්‍රප්‍රස්ථ |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

**17.**

| X | Y |
|---|---|
| (i) චතුර්වේද | A ඍග්, යජුර්, සාම, අථර්වන් |
| (ii) චතුර්වර්ණ | B දුක්ඛ, සමුදය, නිරෝධ, මාර්ග |
| (iii) චතුර්ආශ්‍රම | C බ්‍රහ්මචාරි, ගෘහස්ථ, වානප්‍රස්ථ, සන්‍යාසි |
| (iv) චතුර්සත්‍ය | D බ්‍රාහ්මණ, ක්ෂත්‍රිය, වෛශ්‍ය, ශූද්‍ර |
| (v) චතුර්උපාය මාර්ග | E සාම, දාන, භේද, දණ්ඩ |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

[තුන්වැනි පිටුව බලන්න.

| | X | | Y |
|---|---|---|---|
| **18.** (i) | දණ්ඩින් | A | චන්ද්‍රගුප්ත මෞර්ය |
| (ii) | හරිසේන | B | චන්ද්‍රගුප්ත වික්‍රමාදිත්‍ය |
| (iii) | කාලිදාස | C | සමුද්‍රගුප්ත |
| (iv) | කෞටිල්‍ය | D | පුෂ්‍යමිත්‍ර ශුංග |
| (v) | පතංජලී | E | පළමුවැනි නරසිංහවර්මන් |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

| | X | | Y |
|---|---|---|---|
| **19.** (i) | අජන්තා | A | පල්ලව රථ |
| (ii) | මහබලිපුරම් | B | හින්දු දේවාල |
| (iii) | මදුරා | C | ගුහා චිත්‍ර |
| (iv) | නාලන්දා | D | බෞද්ධ අධ්‍යාපන ආයතනයක් |
| (v) | තංජෝර් | E | බුද්ධ ප්‍රතිමා |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

| | X | | Y |
|---|---|---|---|
| **20.** (i) | සෝම | A | පරිපාලන ඒකකයකි |
| (ii) | නිෂ්ක | B | ශුද්ධ වූ පානයකි |
| (iii) | කුල | C | බලකොටු නගරය |
| (iv) | පූර් | D | පවුල |
| (v) | රාෂ්ට්‍ර | E | පැරණි රන් කාසි වර්ගයකි |

(1) ADCBE (2) BEDCA (3) CAEDB (4) DBAEC (5) ECBAD (.........)

- අංක 21 සිට 25 තෙක් සෑම ප්‍රශ්නයකට ම නිවැරදි පිළිතුර තෝරා, එහි අංකය ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**21. ධාන්‍යාගාරයක නටබුන් හමු වූ හරප්පා නගරය කුමක් ද?**
(1) මොහෙන්ජෝදාරෝ (2) හරප්පා (3) කලිබන්ගන්
(4) ලෝතාල් (5) චන්හුදාරෝ (.........)

**22. මහායාන ග්‍රන්ථ බහුතරයක් ලියවී ඇති භාෂාව කුමක් ද?**
(1) බ්‍රාහ්මී (2) පාලි (3) කණ්ණඩ
(4) සංස්කෘත (5) ඛරෝෂ්ඨී (.........)

**23. සංගම් සාහිත්‍ය වර්ධනය වූයේ කුමන රජුන් යටතේ ද?**
(1) චෝළ (2) සාතවාහන (3) පාණ්ඩ්‍ය
(4) පල්ලව (5) චාලුක්‍ය (.........)

**24. වාකාටක රාජ්‍ය පාලනය කළ ගුප්ත කුමාරිකාව කවු ද?**
(1) දත්ත දේවි (2) කුමාර දේවි (3) ධ්‍රැව දේවි
(4) ප්‍රභාවතී ගුප්තා (5) කුබේරනාගා (.........)

**25. 'වාතාපි කොණ්ඩ' යන විරුදය භාවිත කළ පල්ලව රජු කවරෙක් ද?**
(1) පළමුවැනි මහේන්ද්‍රවර්මන් (2) පළමුවැනි නරසිංහවර්මන්
(3) පරමේශ්වරවර්මන් (4) නන්දිවර්මන්
(5) දන්තිවර්මන් (.........)

- අංක 26 සිට 30 තෙක් සෑම ප්‍රශ්නයකට ම එක් මාතෘකාවක් යටතේ කරුණු **පහ** බැගින් සපයා ඇත. එම කරුණු අතුරෙන් **එකක් අදාළ මාතෘකාවට නොගැළපේ.** එය තෝරා ඊට අදාළ **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**26. ඍග් වෛදික යුගය**
(1) ඍග් වෛදික වැසියන්ගේ ප්‍රධාන ජීවනෝපාය කෘෂිකර්මාන්තය විය.
(2) සමාජය ගෝත්‍රික තත්ත්වයක පැවැතිණි.
(3) මේ අවධියේ ප්‍රධාන දෙවිවරුන් වූයේ අග්නි, ඉන්ද්‍ර සහ වරුණ ය.
(4) මෙම අවධියේ දී ගංගානම් ගං නිම්නයේ ප්‍රබල රාජාණ්ඩු කිහිපයක් පෙරමුණට පැමිණියේ ය.
(5) වෛදික වැසියා පිළිම වන්දනා නොකළ හ. (.........)

**27. මෞර්යයන්ගෙන් අනතුරුව වයඹදිග ඉන්දියාව**
(1) මෞර්ය අධිරාජ්‍යය බිඳවැටීමෙන් පසු විදේශ ආක්‍රමණ කිහිපයක් සිදු විය.
(2) මධ්‍ය ආසියාව දෙසින් පැමිණි ප්‍රථම ආක්‍රමණිකයන් වූයේ ඉන්දු-ග්‍රීකයෝ නැතහොත් බැක්ට්‍රියානු ග්‍රීකයෝ ය.
(3) ඩිමෙට්‍රියස් හින්දුකුෂ් හරහා පැමිණ බටහිර පන්ජාබ් ප්‍රදේශයේ සිය බලය පිහිටු විය.
(4) ඉන්දු-ග්‍රීක පාලකයන්ගේ අගනුවර වූයේ පෙෂාවෝර් ය.
(5) ඉන්දු-ග්‍රීක පාලකයන් අතර ශ්‍රේෂ්ඨ පාලකයා ලෙස සැලකෙන්නේ මෙනැන්ඩර් රජු ය. (.........)

[හතරවැනි පිටුව බලන්න.

**28. සාතවාහනයෝ**

(1) සාතවාහනයෝ බ්‍රාහ්මණ වංශිකයන් බව නාසික් සෙල්ලිපිය දක්වයි.
(2) ගෝධාවරී හා ක්‍රිෂ්ණා අතර වූ ආන්ද්‍ර ප්‍රදේශය සාතවාහනයන් යටතේ පැවැති ප්‍රධාන භූමි භාගය විය.
(3) පළමුවැනි සාතකර්ණි රජු දක්ෂිණාපථපති යන විරුදය ලැබී ය.
(4) සාතවාහනයන්ගේ වඩාත් කැපීපෙනෙන රජු වූයේ ගෞතමීපුත්‍ර සාතකර්ණි රජු ය.
(5) නහපාන විසින් ගෞතමීපුත්‍ර සාතකර්ණි රජු පරදා මරා දැමී ය. (.........)

**29. මෞර්යයන් යටතේ පාටලීපුත්‍ර නගරයේ පරිපාලනය**

(1) නගරය පාලනය කරන ලද්දේ තිස් දෙනකුගෙන් යුත් කමිටුවක් මගිනි.
(2) කමිටුවේ ප්‍රධානියා වූයේ නගර ගුත්තික ය.
(3) කමිටුව අනුකමිටු හයකට බෙදී තිබුණි.
(4) නගරය ආරක්ෂා වූයේ දැවයෙන් කළ පවුරකින් හා දිය අගලකිනි.
(5) වෙළෙඳපොළේ විකුණන ලද භාණ්ඩවලින් බද්දක් අය කරන ලදී. (.........)

**30. හර්ෂවර්ධන රජතුමා**

(1) පුරාණ ඉන්දියාවේ අන්තිම අධිරාජ්‍ය නිර්මාපකයා ලෙස ඇතැම් ඉතිහාසඥයන් විසින් හර්ෂවර්ධන හඳුන්වනු ලැබේ.
(2) තම සහෝදරයාගේ මරණයෙන් පසු හර්ෂවර්ධන ථානේෂ්වරයේ රජ විය.
(3) හර්ෂවර්ධන විසින් ශශංක මරා බෙංගාලය යටත් කර ගන්නා ලදී.
(4) හර්ෂවර්ධන රජුගේ දකුණේ යුද ව්‍යාපාරය චාලුක්‍ය වංශික දෙවැනි පුලකේශීන් විසින් ව්‍යර්ථකරන ලදී.
(5) ඔහු මහායාන බෞද්ධාගම ඇදහුවකු විය. (.........)

- අංක **31** සිට **35** තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති **(A)**, **(B)**, **(C)** හා **(D)** යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක් හෝ කිහිපයක්** හෝ නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර හෝ තෝරා,

**(A)** සහ **(B)** පමණක් නිවැරදි නම් ........................................ **1** ද
**(B)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **2** ද
**(C)** සහ **(D)** පමණක් නිවැරදි නම් ........................................ **3** ද
**(A)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **4** ද
ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි නම් .......... **5** ද, **වරහන තුළ** ලියන්න.

**උපදෙස් සම්පිණ්ඩනය**

| 1 | 2 | 3 | 4 | 5 |
|---|---|---|---|---|
| **(A)** සහ **(B)** පමණක් නිවැරදි ය. | **(B)** සහ **(C)** පමණක් නිවැරදි ය. | **(C)** සහ **(D)** පමණක් නිවැරදි ය. | **(A)** සහ **(C)** පමණක් නිවැරදි ය. | ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් නිවැරදි ය. |

**31. ග්‍රීක ලේඛකයෝ**

(A) හෙරඩෝටස් තම කෘතිය වූ 'හිස්ටරීස්' තුළින් වයඹදිග ඉන්දියාවේ දේශපාලන තත්ත්වය ගැන විස්තරයක් ඉදිරිපත් කරයි.
(B) හෙරඩෝටස් කිසිදිනෙක ඉන්දියාවට පැමිණියේ නැති වුව ද තම ග්‍රන්ථයට පදනම් කර ගත්තේ පර්සියානු මූලාශ්‍රය ය.
(C) ඒරියන්ගේ විස්තර මහා ඇලෙක්සැන්ඩර්ගේ ඉන්දියානු ආක්‍රමණය සම්බන්ධයෙනි.
(D) මෙගස්තිනිස්ගේ ඉන්ඩිකා ග්‍රන්ථය මෞර්ය ඉන්දියාවේ දේශපාලන, ආර්ථික හා සමාජ ජීවිතය පිළිබඳ තොරතුරු ලබා දෙයි. (.........)

**32. ෆාහියන්**

(A) ෆාහියන් ඉන්දියාවට පැමිණියේ හර්ෂවර්ධන රාජ්‍ය සමයේ දී ය.
(B) උන්වහන්සේ ඉන්දියාවට පැමිණියේ ගෝබි කාන්තාරය, ඛෝටාන් සහ පාමීර් කඳුවැටිය ඔස්සේ ය.
(C) බුද්ධාගම හා සම්බන්ධ පෙෂාවෝර්, කනෞජ්, බෙනාරස්, කපිලවස්තු, වෛසාලි හා පාටලීපුත්‍ර වැනි ස්ථානවලට උන්වහන්සේ ගොස් ඇත.
(D) ඉන්දියාවේ සිටි කාලය තුළ දී උන්වහන්සේ කනෞජ් හා ප්‍රයාගවල පැවැත් වූ බෞද්ධ සම්මේලන දෙකකට ද සහභාගි වූහ. (.........)

**33. චෝළ පරිපාලනය**

(A) රාජධානියේ ඇතැම් ප්‍රදේශ සෘජුව ම රජු විසින් පාලනය කරන ලදී.
(B) රාජධානියේ ඇතැම් ප්‍රදේශ පාලනය කරන ලද්දේ චෝළ රජුගේ ආධිපත්‍ය පිළිගත් යටත් පාලකයෝ ය.
(C) රජුට පාලනයේ දී සහාය වූයේ මන්ත්‍රි පර්ෂද් නමැති උපදේශක සභාවයි.
(D) ශිව දෙවියන් ඇදහූවන් වූ චෝළයෝ තම රාජ්‍ය තුළ වෙනත් ආගම් ඇදහීමට අවසර නුදුන්හ. (.........)

**34. චාලුක්‍යයෝ**

(A) චාලුක්‍යයන් කණ්ඩායම් තුනකට බෙදනු ලැබේ. එනම් වටාපිහි චාලුක්‍යයන්, කල්‍යාණිහි චාලුක්‍යයන් සහ වෙංගිහි චාලුක්‍යයන් යනුවෙනි.
(B) දෙවැනි පුලකේශීන් මෙම කණ්ඩායම් තුන ම ඒකාබද්ධ කිරීමට සමත් විය.
(C) ඉන්දියාවට එල්ල වූ අරාබි ආක්‍රමණ චාලුක්‍යයන් විසින් පලවා හරින ලදී.
(D) වටාපි නගරය පිහිටුවන ලද්දේ දෙවැනි පුලකේශීන් විසිනි. (.........)

**35. තුර්කි ආක්‍රමණ**

(A) පළමුවැනි තුර්කි ආක්‍රමණිකයා වූ ඝස්නි මහමුද් අවුරුදු 25 ක් තුළ 17 වතාවක් ඉන්දියාව ආක්‍රමණය කළේ ය.
(B) ක්‍රි.ව. 1025 දී කරන ලද ඝස්නි මහමුද්ගේ අන්තිම ආක්‍රමණයේ දී සෝම්නාත් හින්දු දේවාලය කොල්ල කා විනාශ කර දමන ලදී.
(C) ඉන්දියාවේ මුස්ලිම් පාලනයේ පළමුවැනි පාලකයා ඝස්නි මහමුද් ය.
(D) ඝස්නි මහමුද් ගංගානම් ගඟ දක්වා හමුදා මෙහෙයවා ඇත. (.........)

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළ ව ප්‍රකාශ **දෙක** බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැයි තෝරා, ඊට අදාළ **අංකය වරහන තුළ** ලියන්න.

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** |
|---|---|---|
| **1.** | නිවැරදි ය. | වැරදි ය. |
| **2.** | නිවැරදි ය. | නිවැරදි ය. |
| **3.** | වැරදි ය. | වැරදි ය. |
| **4.** | වැරදි ය. | නිවැරදි ය. |
| **5.** | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** | |
|---|---|---|
| **36.** ඉන්දු නිම්න ශිෂ්ටාචාරය පුරා ම ඒකීයභාවයක් දක්නට තිබිණි. | එම ඒකීයභාවයට මූලික වශයෙන් හේතු වී ඇත්තේ බලවත් රජෙකු යටතේ මධ්‍යගත පාලනයක් පැවැතීම ය. | (........) |
| **37.** ක්‍රි.පූ. හයවැනි සියවස තුළ ඉන්දියාවේ කැපීපෙනෙන මානසික හා ආධ්‍යාත්මික පිබිදීමක් පැවැතියේ ය. | මගධය මෙම ප්‍රබෝධකාරී තත්ත්වයේ කේන්ද්‍රස්ථානය විය. | (........) |
| **38.** පෝරස් රජුගේ දැඩි විරෝධතාව නිසා මහා ඇලෙක්සැන්ඩර්ට බියස් නදිය තරණය කළ නොහැකි විය. | ආපසු යන ගමනේ දී හතුරකු විසින් පර්සියාවේ දී ඇලෙක්සැන්ඩර් මරා දමන ලදී. | (........) |
| **39.** බෞද්ධයකු වූ අශෝක තම අධිරාජ්‍ය පුරා ම සතුන් මැරීම සම්පූර්ණයෙන් ම තහනම් කළේ ය. | බුද්ධාගම ප්‍රචාරය කිරීම සඳහා අශෝක රජු විසින් ධර්ම මහාමාත්‍රවරුන් පත් කරන ලදී. | (........) |
| **40.** සින්ධ් හි අරාබි පාලන සමයේ දී හින්දු ආගම තහනම් වූ අතර හින්දූන් බලහත්කාරයෙන් ඉස්ලාම් ආගමට හරවා ගන්නා ලදී. | අරාබිහු ඉන්දියාවේ තාරකා ශාස්ත්‍රය මෙන් ම ගණිතය ද ඉගෙනගත් අතර සමහර හින්දු ග්‍රන්ථ අරාබි භාෂාවට ද පරිවර්තනය කරන ලදී. | (........) |

* *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தரப்) பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

ඉතිහාසය II (II කොටස)
வரலாறு II (பகுதி II)
History II (Part II)

25 - A | S | II

**ඉන්දියා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1206 දක්වා**

**උපදෙස්:**

* **පළමුවැනි** ප්‍රශ්නයටත් තවත් ප්‍රශ්න **තුනකටත්** පිළිතුරු සපයන්න.
(**පළමුවැනි** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **ඉන්දියාවේ දළ සිතියමක්** සපයා ඇත.)

## II කොටස

1. ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.** ඒවායින් කැමති **දෙකක්** පිළිබඳ ව කෙටි ඓතිහාසික සටහන් ලියන්න.
   (i) මක්‍රාන් කපොල්ල (ii) යමුනා ගඟ
   (iii) කලිංග (iv) තක්ෂිලා
   (v) කාංචි (vi) ලෝතාල්
   (vii) වින්ධ්‍යා කඳුවැටිය (viii) භාරුකච්ඡ

   *(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු **01** බැගිනි; කෙටි ඓතිහාසික සටහනකට ලකුණු **05** බැගිනි)*

2. ඉන්දියානු ඉතිහාසය කෙරෙහි වයඹදිග කපොලු බලපෑ ආකාරය පැහැදිලි කරන්න. *(ලකුණු 14යි.)*

3. හරප්පා වැසියන්ගේ ආගමික විශ්වාස හා ඇදහිලිවල මුඛ්‍ය ලක්ෂණ සාකච්ඡා කරන්න. *(ලකුණු 14යි.)*

4. ක්‍රි.පූ. හයවැනි සියවසේ උතුරු ඉන්දියාවේ දේශපාලන තත්ත්වය පරීක්ෂා කරන්න. *(ලකුණු 14යි.)*

5. "ඉන්දියාවේ මෞර්ය අධිරාජ්‍යයාගේ ආරම්භකයා චන්ද්‍රගුප්ත මෞර්ය රජු ය."
   (i) චන්ද්‍රගුප්ත මෞර්ය රජු විසින් පරාජය කරන ලද අවසාන නන්ද පාලකයා කවු ද? *(ලකුණු 01යි.)*
   (ii) චන්ද්‍රගුප්ත මෞර්ය රජු හැර වෙනත් මෞර්ය පාලකයන් **දෙදෙනකු** නම් කරන්න. *(ලකුණු 02යි.)*
   (iii) චන්ද්‍රගුප්ත මෞර්ය රජවීමට පෙර ඉන්දියාවේ දේශපාලන තත්ත්වය කෙටියෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 04යි.)*
   (iv) ඉහත දැක්වෙන ප්‍රකාශය විචාරාත්මක ව පරීක්ෂා කරන්න. *(ලකුණු 07යි.)*

6. කනිෂ්ක රජුගේ කාර්ය සාඵල්‍යය පහත සඳහන් මාතෘකා යටතේ සාකච්ඡා කරන්න.
   (i) දේශපාලන කටයුතු
   (ii) සංස්කෘතික වර්ධනයන් *(ලකුණු 14යි.)*

7. ගුප්ත අධිරාජ්‍යය හා සම්බන්ධ පහත දැක්වෙන මාතෘකා අතුරෙන් **දෙකක** ඓතිහාසික වැදගත්කම පැහැදිලි කරන්න.
   (i) අලහබාද් ප්‍රශස්තිය
   (ii) දෙවැනි චන්ද්‍රගුප්ත යටතේ අධිරාජ්‍ය ව්‍යාප්තිය
   (iii) ගුප්ත පාලකයින් යටතේ වූ සාහිත්‍ය වර්ධනය
   (iv) හූණ ආක්‍රමණය
   (v) ගුප්තයන් යටතේ පරිපාලනය *( එක් සටහනකට ලකුණු 07 බැගිනි.)*

8. "දකුණු ඉන්දියානු සංස්කෘතියේ වර්ධනීය අවස්ථාවක් පල්ලව යුගය සනිටුහන් කරයි."
   (i) පල්ලව ගෘහනිර්මාණ ශිල්පය හා සම්බන්ධ ප්‍රධාන මධ්‍යස්ථානවලින් **එකක්** නම් කරන්න. *(ලකුණු 01යි.)*
   (ii) පල්ලව සංස්කෘතියේ අභිවර්ධනයට දායකත්වය සැපයූ පාලකයින් **දෙදෙනකු** නම් කරන්න. *(ලකුණු 02යි.)*
   (iii) පල්ලව කලා හා ගෘහනිර්මාණ ශිල්පයේ ප්‍රධාන ලක්ෂණ කෙටියෙන් පැහැදිලි කරන්න. *(ලකුණු 04යි.)*
   (iv) ඉහත සඳහන් ප්‍රකාශය පුරා විද්‍යාත්මක මූලාශ්‍රය ඇසුරෙන් පරීක්ෂා කරන්න. *(ලකුණු 07යි.)*

9. **එක්කෝ** (**A**) කොටසට **නැතහොත්** (**B**) කොටසට පමණක් පිළිතුරු සපයන්න.
   (**A**) චෝළ අධිරාජ්‍ය වර්ධනයෙහි ලා පළමුවැනි රාජේන්ද්‍ර චෝළගේ දායකත්වය ප්‍රමාණ කරන්න. *(ලකුණු 14යි.)*
   (**B**) 1206 ට පෙර ඉන්දියාවට එල්ල වූ තුර්කි-ඇෆ්ගන් ආක්‍රමණ පරීක්ෂා කරන්න. *(ලකුණු 14යි.)*

* * *

20575

AL/2015/25-A/S-II





අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

| | | | |
|---|---|---|---|
| ඉතිහාසය II<br>வரலாறு II<br>History II | 25-A | S |

ප්‍රශ්න අංකය / வினா இல. / Question No. } 1

විභාග අංකය / சுட்டெண் / Index No. } ..........................





Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

| | | |
|---|---|---|
| ඉතිහාසය II (I කොටස)<br>வரலாறு II (பகுதி I)<br>History II (Part I) | **25-B** **S** **II** | පැය තුනයි<br>மூன்று மணித்தியாலம்<br>Three hours |

**යුරෝපා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1989 දක්වා**

විභාග අංකය: ......................................

**උපදෙස්:**

* මෙම කොටසේ ප්‍රශ්න **40**ක් ඇත. **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.
* එක් එක් ප්‍රශ්නයට ප්‍රතිචාර **පහ** බැගින් දී ඇති නමුදු නිවැරදි පිළිතුර වන්නේ **එකක්** පමණි. එම නිවැරදි පිළිතුර තෝරා දී ඇති **උපදෙස් පරිදි ලකුණු කරන්න.**
* **මෙම කොටසට ලකුණු 40 ක් දෙනු ලැබේ.**
* කොටස් දෙකට ම මුළු කාලය **පැය තුනකි.** පිළිතුරු ලියා අවසන් වූ පසු, **I කොටස, II කොටසේ** පිළිතුරු පත් සමග **අමුණා භාර දෙන්න.**

## I කොටස

● අංක **1** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමග **නොගැළපේ.** එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන තුළ** ලියන්න.

**1.** (1) ඇතන්ස් (2) තීබ්ස් (3) කොරින්ත්
(4) මිලේටස් (5) ඇක්‍රොපොලිස් (.........)

**2.** (1) පයිතගරස් (2) ඊස්කිලස් (3) සොෆොක්ලීස්
(4) යුරිපිඩීස් (5) ඇරිස්ටොෆනීස් (.........)

**3.** (1) ඇලෙක්සැන්ඩ්‍රියාව (2) ටයිබර් (3) රෝමය
(4) කාර්තේජ් (5) බයිසැන්ටියම (.........)

**4.** (1) ඔගස්ටස් (2) ට්‍රාජන් (3) හාඩ්‍රියන්
(4) ස්පාටකස් (5) මාකස් අවුරේලියස් (.........)

**5.** (1) හෙලනීවරු (2) ඔස්ට්‍රොගොත්වරු (3) ලොම්බාර්ඩ්වරු
(4) ෆ්‍රැන්ක්වරු (5) ඇංග්ලෝ-සැක්සන්වරු (.........)

**6.** (1) බොලෝඤ්ඤා (2) ඔක්ස්ෆඩ් (3) ලයිසියම්
(4) කේම්බ්‍රිජ් (5) හයිඩල්බර්ග් (.........)

**7.** (1) පුවෙබ්ලෝවරු (2) ඇස්ටෙක්වරු (3) මායාවරු
(4) ඉන්කාවරු (5) හන්වරු (.........)

**8.** (1) ටියුඩර් (2) ස්ටුවර්ට් (3) ඔරෙන්ජ්
(4) හැනෝවර් (5) වින්සර් (.........)

**9.** (1) ජෝන් කැබෝ (2) ෆ්‍රැන්සිස් ක්සේවියර් (3) ෆ්‍රැන්සිස් ඩ්‍රේක්
(4) හම්ෆ්‍රි ගිල්බට් (5) වෝල්ටර් රැලේ (.........)

**10.** (1) ජාත්‍යන්තර මූල්‍ය අරමුදල (IMF)
(2) බ්‍රිතාන්‍ය පොදුරාජ්‍ය මණ්ඩලය
(3) උතුරු අත්ලාන්තික් ගිවිසුම් සංවිධානය (NATO)
(4) වෝර්සෝ ගිවිසුම
(5) යුරෝපා සංගමය (EU) (.........)

[දෙවැනි පිටුව බලන්න.

● අංක **11** සිට **15** තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් එක යුගලයක පද එකිනෙකට **නො ගැළපේ.** එම **නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන ඊට අදාළ **අංකය,** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**11.** (1) සියක් අවුරුදු යුද්ධය - එංගලන්තය හා ප්‍රංශය
(2) රෝස යුද්ධ - එංගලන්තය හා ප්‍රංශය
(3) හත් අවුරුදු යුද්ධය - එංගලන්තය හා ප්‍රංශය
(4) ක්‍රිමියන් යුද්ධය - රුසියාව හා තුර්කිය
(5) සත් සති යුද්ධය - ඔස්ට්‍රියාව හා ප්‍රශියාව (.........)

**12.** (1) ස්ෆෝර්සා - මිලාන්
(2) මෙඩිචි - ෆ්ලොරන්ස්
(3) එස්තේ - ෆෙරාරා
(4) වැලොයි - නේපල්ස්
(5) ගොන්සාගා - මැන්ටුවා (.........)

**13.** (1) බර්තෝලමියු ඩයස් - අප්‍රිකානු මහද්වීපයේ දකුණු තුඩුව දක්වා යාත්‍රා කිරීම
(2) ක්‍රිස්ටෝෆර් කොලම්බස් - කැරිබියන් දූපත්වලට ගොඩබැසීම
(3) අමෙරිගෝ වෙස්පුචි - පැසිෆික් සාගරය සොයා ගැනීම
(4) වස්කෝ ද ගාමා - පෙරදිගට මුහුදු මාර්ගයක් සොයා ගැනීම
(5) ෆර්ඩිනන්ඩ් මැගලන් - ලොව වටා යාත්‍රා කිරීම (.........)

**14.** (1) අයිතිවාසිකම් පනත - උත්කෘෂ්ට විප්ලවය
(2) ස්වාධීනතා ප්‍රකාශනය - අමෙරිකන් විප්ලවය
(3) මිනිස් අයිතිවාසිකම් ප්‍රකාශනය - ප්‍රංශ විප්ලවය
(4) කොමියුනිස්ට් ප්‍රකාශනය - පැරිස් කොමියුනය
(5) මානව අයිතිවාසිකම් පිළිබඳ විශ්ව ප්‍රකාශනය - එක්සත් ජාතීන්ගේ සංවිධානය (.........)

**15.** (1) සාප්පුකාර ජාතිය - එංගලන්තය
(2) භූගෝලීය ප්‍රකාශනයක් පමණකි - ඉතාලිය
(3) යුරෝපයේ රෝගියා - තුර්කිය
(4) අඳුරු මහද්වීපය - අප්‍රිකාව
(5) හිරු නොබසින අධිරාජ්‍යය - ප්‍රංශය (.........)

● අංක **16** සිට **25** තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරුවල දී ඇත. **Y** තීරුවේ දී ඇති නාම / ප්‍රකාශන / දින වකවානු **X** තීරුවේ දී ඇති ඒවා සමඟ කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නො වේ. Y** තීරුව, **X** තීරුව සමඟ ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත දී ඇති සංයෝග පහෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

**16.**

| X | Y |
|---|---|
| (i) සියුස් | A ආලයට අධිපති දෙවඟන |
| (ii) පොසිඩන් | B ප්‍රඥාවට හා ශිල්පයන්ට අධිපති දෙවඟන |
| (iii) ඇෆ්‍රොඩයිටී | C ආකාශයට අධිපති දෙවියා |
| (iv) ඇතීනා | D වයින් පානයට (සුරාවට) අධිපති දෙවියා |
| (v) ඩයනීසස් | E මුහුදට අධිපති දෙවියා |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**17.**

| X | Y |
|---|---|
| (i) ප්‍රොටගරස් | A 'මිනිසා යනු දේශපාලන සත්ත්වයෙකි.' |
| (ii) සොක්‍රටීස් | B 'සත්‍ය වූ නීතිය යනු ස්වභාව ධර්මය හා එකඟ වූ නිවැරදි හේතු යුක්තියයි.' |
| (iii) හිපොක්‍රටීස් | C 'සද්භාවය වූ කලී දැනුමයි.' |
| (iv) ඇරිස්ටෝටල් | D 'සියලු දේ මනින මිම්ම මිනිසා ය.' |
| (v) සිසරෝ | E 'සෑම රෝගයකට ම ස්වාභාවික හේතුවක් ඇත.' |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

[තුන්වැනි පිටුව බලන්න.

**18.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | ප්ලේටෝ | A | ඩිකැමරන් |
| (ii) | ඩාන්ටේ | B | ජනරජය |
| (iii) | බොකැෂියෝ | C | කුමාරයා |
| (iv) | මකියාවෙලි | D | යුටෝපියා |
| (v) | තෝමස් මෝර් | E | ඩිවයින් කොමෙඩි |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**19.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | ටොලමි | A | ග්‍රහ ලෝක, සූර්යයා වටා ඉලිප්සාකර මාර්ගවල ගමන් කරයි. |
| (ii) | කොපර්නිකස් | B | ගුරුත්වාකර්ෂණය |
| (iii) | කෙප්ලර් | C | දුරදක්නය නිපදවීම |
| (iv) | ගැලීලියෝ ගැලිලි | D | සූර්ය කේන්ද්‍රීය විශ්වය |
| (v) | අයිසැක් නිව්ටන් | E | පෘථිවි කේන්ද්‍රීය විශ්වය |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**20.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | මිලාන් ආඥාව (313) | A | හතරවැනි හෙන්රි |
| (ii) | මහාධිකාර පත්‍රය (1215) | B | මෙටර්නික් |
| (iii) | නැන්ටීස් ආඥාව (1598) | C | නැපෝලියන් බොනපාට් |
| (iv) | බර්ලින් ආඥාව (1806, මහද්වීපික ක්‍රමය) | D | කොන්ස්ටන්ටයින් |
| (v) | කාල්ස්බාඩ් ආඥා | E | ජෝන් රජතුමා |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**21.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | මිලේච්ඡ ආක්‍රමණ | A | අමෙරිකන් විප්ලවය ඇති වීම |
| (ii) | කොන්ස්තන්තිනෝපලයේ වැටීම | B | පළමුවැනි ලෝක යුද්ධය ඇති වීම |
| (iii) | බොස්ටන් තේ සාදය | C | ප්‍රංශ විප්ලවය ඇති වීම |
| (iv) | බැස්ටීලයේ වැටීම | D | පුනරුදය ආරම්භ වීම |
| (v) | ඔස්ට්‍රියාවේ ෆ්‍රැන්සිස් ෆර්ඩිනන්ඩ් ආදිපාදවරයා ඝාතනය කිරීම | E | බටහිර රෝම අධිරාජ්‍යයේ බිඳ වැටීම |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**22.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | මානවවාදය | A | රූසෝ |
| (ii) | බලතල වෙන් කිරීම | B | ජෙරමි බෙන්තම් |
| (iii) | සමාජ සම්මුතිවාදය | C | ෆ්‍රැන්සිස් පෙට්‍රාක් |
| (iv) | උපයෝගිතාවාදය | D | කාල් මාක්ස් |
| (v) | විද්‍යාත්මක සමාජවාදය | E | මොන්ටෙස්ක්‍යු |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**23.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | ජොන් වයික්ලිෆ් | A | ලන්දේසි |
| (ii) | ජෝන් හස් | B | ඉංග්‍රීසි |
| (iii) | ඉරාස්මස් | C | ස්විස් |
| (iv) | උල්රිච් ස්විංග්ලි | D | ප්‍රංශ |
| (v) | ජෝන් කැල්වින් | E | බොහිමියන් (චෙක්) |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**24.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | දාහතරවැනි ලුවී | A | 'සියලු රටවල කම්කරුවනි, එක්වන්න!' |
| (ii) | නැපෝලියන් බොනපාට් | B | 'අධිරාජ්‍යවාදය යනු ධනවාදයේ උච්චතම අවස්ථාවයි.' |
| (iii) | බිස්මාර්ක් | C | 'විප්ලවය යනු මම වෙමි' |
| (iv) | කාල් මාක්ස් | D | 'රාජ්‍යය යනු මම වෙමි' |
| (v) | වී. අයි. ලෙනින් | E | 'තත්කාලීන වැදගත් ප්‍රශ්න තීරණය කරනු ලබන්නේ කතා පැවැත්වීමෙන් සහ බහුතර ඡන්දයෙන් නොව ලෙයින් හා යකඩෙනි.' |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

[හතරවැනි පිටුව බලන්න.

3881

| | X | | Y |
|---|---|---|---|
| 25. | (i) ඇලෙක්සැන්ඩර් කෙරෙන්ස්කි | A | තනි රටේ සමාජවාදය |
| | (ii) ලියොන් ට්‍රොට්ස්කි | B | ග්ලස්නොස්ට් (විවෘතභාවය) සහ පෙරෙස්ත්‍රොයිකා (ආර්ථික ප්‍රතිව්‍යුහගතකරණය) |
| | (iii) ජෝසෆ් ස්ටාලින් | C | නව ආර්ථික ප්‍රතිපත්තිය |
| | (iv) වී. අයි. ලෙනින් | D | නොනවතින විප්ලවය |
| | (v) මිහායල් ගොර්බචොෆ් | E | තාවකාලික ආණ්ඩුව |

(1) DCEAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

● අංක **26** සිට **30** තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති **(A)**, **(B)**, **(C)** සහ **(D)** යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක් හෝ කිහිපයක් හෝ** නිවැරදි ය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර හෝ තෝරා,

**(A)** සහ **(B)** පමණක් නිවැරදි නම් ........................................ **1** ද,
**(B)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **2** ද,
**(C)** සහ **(D)** පමණක් නිවැරදි නම් ........................................ **3** ද,
**(A)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **4** ද,
ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි නම් .......... **5** ද, **වරහන තුළ** ලියන්න.

| **උපදෙස් සම්පිණ්ඩනය** | | | | |
|---|---|---|---|---|
| **1** | **2** | **3** | **4** | **5** |
| **(A)** සහ **(B)** පමණක් නිවැරදි ය. | **(B)** සහ **(C)** පමණක් නිවැරදි ය. | **(C)** සහ **(D)** පමණක් නිවැරදි ය. | **(A)** සහ **(C)** පමණක් නිවැරදි ය. | ප්‍රතිචාර **එකක්** හෝ **දෙකකට වැඩි** සංඛ්‍යාවක් නිවැරදි ය. |

**26.** **පහත දැක්වෙන්නන් අතුරෙන් පුරාණ ඇතැන්ස් රාජ්‍යයේ පාලකයෝ කවරහු ද?**
(A) ක්ලිස්තිනීස් (B) පෙරික්ලීස්
(C) ඩේරියස් (D) ජූලියස් සීසර් (.........)

**27.** **පහත දැක්වෙන්නන් අතුරෙන් රෝම කවියෝ කවරහු ද?**
(A) සැෆො (B) පින්ඩාර්
(C) වර්ජිල් (D) හොරස් (.........)

**28.** **පහත සඳහන් කරුණු අතුරෙන් වැඩවසම් ක්‍රමයේ ලක්ෂණ මොනවා ද?**
(A) දේශපාලන බලය විකේන්ද්‍රණය වී තිබීම
(B) පුද්ගලවාදය
(C) ප්‍රවේණි දාසභාවය
(D) දුර්වල රදළ ප්‍රභූ පන්තිය (.........)

**29.** **පහත දැක්වෙන්නන් අතුරෙන් ප්‍රංශ විප්ලවයේ නායකයෝ කවරහු ද?**
(A) කැලෝන් (B) මිරාබෝ
(C) අබේ සියෙස් (D) ටැලිරැන්ඩ් (.........)

**30.** **පහත දැක්වෙන්නන් අතුරෙන් එක්සත් ජාතීන්ගේ මහ ලේකම් ධුරය දැරූවෝ කවරහු ද?**
(A) කොන්රඩ් ඇඩිනුවර් (B) ඩැග් හැමර්ෂල්
(C) ඌ තාන් (D) කුර්ට් වොල්ඩ්හයිම් (.........)

● අංක **31** සිට **35** තෙක් සෑම ප්‍රශ්නයකට ම එක් මාතෘකාවක් යටතේ කරුණු **පහ** බැගින් සපයා ඇත. එම කරුණු අතුරෙන් එකක් අදාළ මාතෘකාවට **නොගැළපේ**. එම **නොගැළපෙන** කරුණ තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**31.** **ජාතික රාජ්‍යයක ප්‍රධාන අංග**
(1) ශක්තිමත් ස්ථාවර හමුදාව
(2) දුර්වල රාජාණ්ඩුව
(3) ශක්තිමත් මධ්‍යම ආණ්ඩුව
(4) නිශ්චිත දේශසීමා
(5) ජාතික එක්සත් බව (.........)

**32. කාර්මික විප්ලව සමයේ මුල් උත්පාදන**

(1) සුළං මෝල (2) සැලෙන නඩාව (3) කට්න ජෙනිය
(4) ජල රාමුව (5) වාෂ්ප එන්ජිම (.........)

**33. ප්‍රංශ විප්ලවයේ ප්‍රධාන අවස්ථා**

(1) ජාතික මන්ත්‍රණ සභාව ඇති කිරීම
(2) රාජාණ්ඩුව අහෝසි කිරීම හා සමූහාණ්ඩුවක් පිහිටුවීම
(3) දහඅටවැනි ලුවී රජතුමාට මරණ දඬුවම පැමිණවීම
(4) හීම සමය
(5) අධ්‍යක්ෂ මණ්ඩලයේ පාලනය (.........)

**34. සම්මේලන ක්‍රමය යටතේ පවත්වන ලද සමුළු**

(1) අයි-ලා ෂැපෙල් (2) ට්‍රොපෝ (3) ලයිබැක්
(4) වෙරෝනා (5) පැරිස් (.........)

**35. සෝවියට් දේශයේ පාලකයෝ**

(1) නිකිතා කෘෂෙෆ් (2) ඇලෙක්සි කොසිගින්
(3) ලියොනිඩ් බ්‍රෙෂ්නෙෆ් (4) ඇලෙක්සැන්ඩර් සොල්ෂෙනිට්සින්
(5) යූරි අන්ද්‍රපොෆ් (.........)

● අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළ ව ප්‍රකාශ දෙක බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කුමර ප්‍රකාශ යුගලයදැ'යි තෝරා ඊට අදාළ **අංකය වරහන තුළ** ලියන්න.

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** |
|---|---|---|
| **1.** | නිවැරදි ය. | වැරදි ය. |
| **2.** | නිවැරදි ය. | නිවැරදි ය. |
| **3.** | වැරදි ය. | වැරදි ය. |
| **4.** | වැරදි ය. | නිවැරදි ය. |
| **5.** | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** | |
|---|---|---|
| **36.** පෙලපොනීසියානු යුද්ධය පිළිබඳ වංශකථාවක් රචනා කළ තුසිඩිඩීස් 'ඉතිහාසයේ පියා' ලෙස හඳුන්වනු ලැබේ. | ක්‍රි.ව. 75 සහ 85 අතර කාලයේ රෝම අධිරාජයන් විසින් විනෝද කටයුතු සඳහා වූ ස්ථානයක් ලෙස පාර්තිනොන් ගොඩනගනු ලැබී ය. | (.........) |
| **37.** පහළොස්වැනි සහ දහසයවැනි සියවස්වල සිදු වූ දේශ ගවේෂණ සහ විදේශ ජයග්‍රහණ හේතු කොට ගෙන බටහිර යුරෝපයේ ආර්ථික වර්ධන රටාව සහ සමාජය වෙනස් විය. | විදේශීය යටත් විජිත අධිරාජ්‍ය ඇති කර ගැනීමට තුඩු දුන් දේශ ගවේෂණ, වාණිජ කටයුතුවල සහ මුදල් සැපයුමේ වර්ධනයක් ඇති කරමින් බටහිර යුරෝපයේ වාණිජ ධනවාදය ඉදිරියට ගෙන ගියේ ය. | (.........) |
| **38.** උත්කෘෂ්ට විප්ලව සමයේ දී ඔලිවර් ක්‍රොම්වෙල්ගේ නායකත්වය යටතේ තිබූ පාර්ලිමේන්තුවේ නියෝගයෙන් I චාල්ස් ප්‍රසිද්ධියේ මරණයට පත් කරනු ලැබී ය. | උත්කෘෂ්ට විප්ලවය විසින් එංගලන්තය තුළ පාර්ලිමේන්තු ආණ්ඩු ක්‍රමයේ මූලධර්ම සහ නීතියේ ආධිපත්‍යය තහවුරු කරන ලදැයි සැලකේ. | (.........) |
| **39.** පස් අවුරුදු සැලසුම් මාලාවක් යටතේ රුසියාව තුළ කාර්මීකරණ ප්‍රතිපත්තියක් ස්ටාලින් විසින් ක්‍රියාත්මක කරන ලදී. | දෙවැනි ලෝක යුද්ධය යුරෝපා රටවල විදේශ අධිරාජ්‍ය කැඩී බිඳීයාම වේගවත් කළේ ය. | (.........) |
| **40.** 1957 රෝම ගිවිසුම මගින් යුරෝපා ආර්ථික හවුල (EEC) පිහිටුවනු ලැබී ය. | බ්‍රිතාන්‍යයට යුරෝපා ආර්ථික හවුලට පිවිසීම සඳහා ප්‍රංශ ජනාධිපති ඩිගෝල් ආධාර කළේ ය. | (.........) |

* *

[ හයවැනි පිටුව බලන්න.

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்**
**General Certificate of Education (Adv. Level) Examination, August 2015**

| | | |
|---|---|---|
| ඉතිහාසය | II | (II කොටස) |
| வரலாறு | II | (பகுதி II) |
| History | II | (Part II) |

**25-B** **S** **II**

**යුරෝපා ඉතිහාසය - ඈත අතීතයේ සිට ක්‍රි.ව. 1989 දක්වා**

**උපදෙස්:**

* **පළමුවැනි** ප්‍රශ්නයටත් තවත් ප්‍රශ්න **තුනකටත්** පිළිතුරු සපයන්න.
  (**පළමුවැනි** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **යුරෝපයේ දළ සිතියමක්** සපයා ඇත.)

## II කොටස

**1.** ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.** ඒවායින් කැමති **දෙකක්** පිළිබඳ ව කෙටි ඓතිහාසික සටහන් ලියන්න.

(i) සිසිලි (ii) සේන් ගඟ (iii) කළු මුහුද
(iv) වෙනිස් (v) පෘතුගාලය (vi) ඉංග්‍රීසි මීඩිය
(vii) බර්ලින් (viii) ලිවර්පූල්

*(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු **01** බැගිනි; කෙටි ඓතිහාසික සටහනකට ලකුණු **05** බැගිනි)*

**2.** පහත දැක්වෙන මාතෘකා යටතේ රෝම බල ව්‍යාප්තිය සැකෙවින් ගෙනහැර දක්වන්න.

(i) ඉතාලිය ජයග්‍රහණය කිරීම
(ii) පියුනික් යුද්ධ
(iii) හෙලනිස්ටික් රාජ්‍ය යටත් කිරීම *(ලකුණු 14 යි.)*

**3.** (i) ඉතාලියේ පුනරුදය ඇතිවීමට තුඩු දුන් සාධක සැකෙවින් විග්‍රහ කරන්න. *(ලකුණු 06 යි.)*
(ii) පුනරුදයේ ප්‍රධාන ලක්ෂණ පරීක්ෂා කරන්න. *(ලකුණු 08 යි.)*

**4.** "ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුව යුරෝපයේ ආගමික ඒකාබද්ධතාව බිඳ දමා පල්ලිය දුර්වල කළේ ය."

(i) ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුව ආරම්භ කළ නායකයා නම් කරන්න. *(ලකුණු 01 යි.)*
(ii) ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුව ආරම්භ වූ රට නම් කරන්න. *(ලකුණු 01 යි.)*
(iii) එම රට තුළ ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුව ඇතිවීමට තුඩු දුන් සාධක සැකෙවින් දක්වන්න. *(ලකුණු 05 යි.)*
(iv) ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුවෙන් උද්ගත වූ ප්‍රතිඵල කෙරෙහි අවධානය යොමු කරමින් ඉහත සඳහන් ප්‍රකාශය පරීක්ෂා කරන්න. *(ලකුණු 07 යි.)*

**5.** (i) අමෙරිකන් නිදහස් සටන ඇති වීමට තුඩු දුන් ප්‍රධාන සාධක පරීක්ෂා කරන්න. *(ලකුණු 10 යි.)*
(ii) නූතන ඉතිහාසයෙහි ලා එම සටනෙහි ඇති වැදගත්කම පැහැදිලි කරන්න. *(ලකුණු 04 යි.)*

**6.** "ප්‍රංශ විප්ලවය ඇති වීමට පෙර පැවැති යුරෝපයේ ලක්ෂණ බොහොමයක් යළි පිහිටුවීමට වියානා සම්මේලනය උත්සාහ කළේ ය."

(i) වියානා සම්මේලනය තුළ වැදගත් භූමිකාවක් ඉටු කළ ඔස්ට්‍රියාවේ චාන්සලර්වරයා නම් කරන්න. *(ලකුණු 01 යි.)*
(ii) ඔස්ට්‍රියාව හැරෙන්නට වියානා සම්මේලනයට සහභාගි වූ වෙනත් රටවල් **දෙකක්** නම් කරන්න. *(ලකුණු 02 යි.)*
(iii) වියානා සම්මේලනයේ ප්‍රධාන අරමුණු සැකෙවින් ලියා දක්වන්න. *(ලකුණු 04 යි.)*
(iv) වියානා සම්මේලනයේ දී ගන්නා ලද ප්‍රධාන තීරණ කෙරෙහි අවධානය යොමු කරමින් ඉහත සඳහන් ප්‍රකාශය විවේචනාත්මක ව විමසන්න. *(ලකුණු 07 යි.)*

[ හත්වැනි පිටුව බලන්න.

**7.** 1848 සිට 1870 දක්වා ඉතාලිය එක්සත් කිරීමේ ප්‍රධාන අවස්ථා ගෙනහැර දක්වන්න. *(ලකුණු 14 යි.)*

**8.** "පළමුවැනි ලෝක යුද්ධයෙන් පසු ෆැසිස්ට්වාදය සහ නට්සිවාදය නැඟී ඒම හේතු කොට ගෙන දෙවැනි ලෝක යුද්ධය ඇති වීම නොවැළැක්විය හැකි දෙයක් බවට පත් විය."

(i) ෆැසිස්ට්වාදය සහ නට්සිවාදය නැඟී ආ ප්‍රධාන රටවල් **දෙක** නම් කරන්න. *(ලකුණු 02 යි.)*

(ii) එම රටවල් දෙකෙහි ප්‍රමුඛතම ෆැසිස්ට් නායකයා සහ ප්‍රමුඛතම නට්සි නායකයා නම් කරන්න. *(ලකුණු 02 යි.)*

(iii) පළමු ලෝක යුද්ධයෙන් පසු එම රටවල ෆැසිස්ට්වාදය හා නට්සිවාදය නැඟී ඒමට තුඩු දුන් ප්‍රධාන සාධක සැකෙවින් ලියා දක්වන්න. *(ලකුණු 03 යි.)*

(iv) දෙවැනි ලෝක යුද්ධය ඇති වීමට තුඩු දුන් ප්‍රධාන හේතු සැලකිල්ලට ගනිමින් ඉහත සඳහන් ප්‍රකාශය පරීක්ෂා කරන්න. *(ලකුණු 07 යි.)*

**9.** **එක්කෝ (A)** කොටසට **නැතහොත් (B)** කොටසට පමණක් පිළිතුරු සපයන්න.

**(A)** පහත දැක්වෙන මාතෘකා අතුරෙන් ඕනෑම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ ව කෙටි සටහන් ලියන්න.

(i) නාවික හෙන්රි

(ii) නව රාජාණ්ඩු

(iii) නැපෝලියන් බොනපාට්

(iv) 1848 විප්ලව

(v) ජාතීන්ගේ සංගමය

(vi) බොල්ෂෙවික් විප්ලවය

*(එක්සටහනකට ලකුණු 07 බැගිනි.)*

**(B)**

(i) 'නිරවි යුද්ධය' යන්නෙන් අදහස් කරන්නේ කුමක් දැ'යි නිර්වචනය කරන්න. *(ලකුණු 05 යි.)*

(ii) 1986 දක්වා එය යුරෝපයේ දේශපාලනය කෙරෙහි බලපෑ අන්දම පරීක්ෂා කරන්න. *(ලකුණු 09 යි.)*

* * *

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

| | | | |
|---|---|---|---|
| ඉතිහාසය II<br>வரலாறு II<br>History II | 25-B | S |

| | |
|---|---|
| ප්‍රශ්න අංකය<br>வினா இல.<br>Question No. | 1 |

| | |
|---|---|
| විභාග අංකය<br>சுட்டெண்<br>Index No. | ................................ |



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

| | | |
|---|---|---|
| ඉතිහාසය II (I කොටස) | 25-C S II | පැය තුනයි |
| வரலாறு II (பகுதி I) | | மூன்று மணித்தியாலம் |
| History II (Part I) | | Three hours |

නූතන ලෝක ඉතිහාසය - ක්‍රි.ව. 1500 සිට 1989 දක්වා

විභාග අංකය: ..................................

**උපදෙස්:**

* මෙම කොටස ප්‍රශ්න **40**කින් සමන්විත වේ. **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.
* එක් එක් ප්‍රශ්නයට ප්‍රතිචාර **පහ** බැගින් දී ඇති නමුදු නිවැරදි පිළිතුර වන්නේ **එකක්** පමණි. එම නිවැරදි පිළිතුර තෝරා, දී ඇති **උපදෙස් පරිදි ලකුණු කරන්න.**
* **මෙම කොටසට ලකුණු 40 ක් දෙනු ලැබේ.**
* කොටස් දෙකට ම මුළු කාලය **පැය තුනකි.** පිළිතුරු ලියා අවසන් වූ පසු, **I කොටස, II කොටසේ** පිළිතුරු පත් සමග **අමුණා භාර දෙන්න.**

## I කොටස

● අංක **1** සිට **10** තෙක් එක් එක් ප්‍රශ්නය සඳහා නම් **පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එකක්** පමණක් කවර හෝ හේතුවක් නිසා අනෙක් නම් සමග **නොගැළපේ.** එම **නොගැළපෙන** නම කුමක් දැ'යි හඳුනාගෙන එහි **අංකය වරහන තුළ** ලියන්න.

1. (1) වින්ධ්‍යා (2) සින්දු (3) බ්‍රහ්මපුත්‍ර (4) ක්‍රිෂ්ණා (5) ගෝදාවරි (.........)

2. (1) ඉරෝකිවරු (2) ඇස්ටෙක්වරු (3) මායාවරු (4) ඉන්කාවරු (5) හන්වරු (.........)

3. (1) සෝබෝන් (2) ඔක්ස්ෆර්ඩ් (3) කේම්බ්‍රිජ් (4) පිකාසෝ (5) හාවඩ් (.........)

4. (1) වැනීසියේ වෙළෙන්දා (Merchant of Venice)
   (2) මූඪත්වයේ අගය වැනීම (Praise of Folly)
   (3) රෝමියෝ සහ ජුලියට්
   (4) හැම්ලට්
   (5) මැක්බෙත් (.........)

5. (1) ඒබ්‍රහම් ලින්කන් (2) හැරී ට්‍රූමන් (3) හෙන්රි කිසිංගර් (4) ජෝන් කෙනඩි (5) ලින්ඩන් ජොන්සන් (.........)

6. (1) සුඩානය (2) ජෝර්දානය (3) උගන්ඩාව (4) කෙන්යාව (5) සෝමාලියාව (.........)

7. (1) ට්‍රිග්වි ලී (2) ඩැග් හැමර්ෂල් (3) උ තාන් (4) ඇලෙක්සැන්ඩර් ඩුබ්චෙක් (5) පෙරෙස් ඩී කුවෙලාර් (.........)

8. (1) මොහොමඩ් අලි ජින්නා (2) අයුබ් ඛාන් (3) ෂීක් මුජිබර් රහමන් (4) යහියා ඛාන් (5) සුල්ෆිකාර් අලි භුතෝ (.........)

9. (1) මාවෝ සේ-තුං (2) හෝ චි මිං (3) චෞ එන්-ලායි (4) හුවා කුවෝ-ෆෙන් (5) ඩෙන්ග් ෂියාඕ-පිං (.........)

10. (1) පොදුරාජ්‍ය මණ්ඩලය
    (2) ජාත්‍යන්තර කම්කරු සංවිධානය (ILO)
    (3) ආහාර හා කෘෂිකර්ම සංවිධානය (FAO)
    (4) එක්සත් ජාතීන්ගේ ළමා අරමුදල (UNICEF)
    (5) ලෝක සෞඛ්‍ය සංවිධානය (WHO) (.........)

[දෙවැනි පිටුව බලන්න.

● අංක **11** සිට **15** තෙක් ප්‍රශ්නවල **පද යුගල පහ** බැගින් දී ඇත. ඒවා අතුරෙන් **එක්** යුගලයක පද එකිනෙකට **නොගැළපේ**. එම **නොගැළපෙන** යුගලය කුමක් දැ'යි හඳුනාගෙන, ඊට අදාළ **අංකය**, ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**11.** (1) රොකී - උතුරු අමෙරිකාව
(2) අන්දීස් - දකුණු අමෙරිකාව
(3) පිරනීස් - ස්විට්සර්ලන්තය
(4) කිලිමන්ජාරෝ - අප්‍රිකාව
(5) නිල්ගිරි - ඉන්දියාව (.........)

**12.** (1) සියක් අවුරුදු යුද්ධය - එංගලන්තය සහ ප්‍රංශය
(2) රෝස යුද්ධ - එංගලන්තය සහ ප්‍රංශය
(3) හත් අවුරුදු යුද්ධය - එංගලන්තය සහ ප්‍රංශය
(4) නයිල් සටන - එංගලන්තය සහ ප්‍රංශය
(5) ට්‍රැෆල්ගාර් සටන - එංගලන්තය සහ ප්‍රංශය (.........)

**13.** (1) යෝක් - ජිනෝවා
(2) ස්ෆෝසා - මිලාන්
(3) මෙඩිචි - ෆ්ලොරන්ස්
(4) එස්තේ - ෆෙරාරා
(5) ගොන්සාගා - මැන්ටුවා (.........)

**14.** (1) හිම සමය - ප්‍රංශ විප්ලවය
(2) ජර්මනිය එක්සත් කිරීමට උත්සාහ කිරීම - ෆ්‍රැන්ක්ෆට් සම්මේලනය
(3) ස්වයං නිර්ණය පිළිබඳ මූලධර්මය - පළමුවැනි ලෝක යුද්ධය අවසානයේ එළැඹි සාම සම්මුතිය
(4) මහාද්වීපික ක්‍රමය - දෙවැනි ලෝක යුද්ධ සමයේ දී ජපානය ආසියාව සම්බන්ධයෙන් අනුගමනය කළ ප්‍රතිපත්තිය
(5) මහා ඉදිරි පිම්ම - කොමියුනිස්ට් චීනය (.........)

**15.** (1) ලෙනින් - අධිරාජ්‍යවාදය යනු ධනවාදයේ උච්චතම අවස්ථාවයි
(2) මහත්මා ගාන්ධි - අවිහිංසාවාදය
(3) සුකර්ණෝ - පස් වැදෑරුම් ප්‍රතිපත්ති හෙවත් පංච ශීල
(4) මාවෝ සේ-තුං - සියලු රටවල කම්කරුවනි, එක්වන්න!
(5) ගොර්බචොෆ් - ග්ලස්නොස්ට් හෙවත් විවෘතභාවය සහ පෙරෙස්ත්‍රොයිකා හෙවත් ආර්ථික ප්‍රතිව්‍යුහකරණය (.........)

● අංක **16** සිට **25** තෙක් එක් එක් ප්‍රශ්නයෙහි නාම / ප්‍රකාශන / දින වකවානු සමූහයක් **X** සහ **Y** තීරුවල දී ඇත. **Y** තීරුවේ දී ඇති නාම / ප්‍රකාශන / දින වකවානු **X** තීරුවේ දී ඇති ඒවා සමග කිසියම් ආකාරයකට ගැළපේ. එහෙත් ඒවා දක්වා ඇත්තේ ගැළපෙන අනුපිළිවෙළට **නො වේ**. **Y** තීරුව, **X** තීරුව සමග ගැළපෙන අනුපිළිවෙළට සකස් කළ විට පහත ඇති සංයෝග අතුරෙන් **එකක්** නිවැරදි ය. නිවැරදි සංයෝගයට අයත් **අංකය** තෝරා **වරහන තුළ** ලියන්න.

**16.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | හින්දු ආගම | A | පිලිපීන දූපත් |
| (ii) | බුද්ධාගම | B | ඉස්රායලය |
| (iii) | කතෝලිකාගම | C | ඉරානය |
| (iv) | ඉස්ලාම් ආගම | D | තායිලන්තය |
| (v) | යුදෙව් ආගම | E | නේපාලය |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

**17.**

| | X | | Y |
|---|---|---|---|
| (i) | ෆ්‍රැන්සිස් පෙට්රාක් | A | රාජ්‍ය නිර්බාධවාදී න්‍යාය |
| (ii) | තෝමස් හොබ්ස් | B | උපයෝගිතාවාදය |
| (iii) | ඇඩම් ස්මිත් | C | මානවවාදය |
| (iv) | ජෙරමි බෙන්තම් | D | විද්‍යාත්මක සමාජවාදය |
| (v) | කාල් මාක්ස් | E | පරමාධිකාරී ආණ්ඩුව |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

[තුන්වැනි පිටුව බලන්න.

18.

| X | Y |
|---|---|
| (i) මෝගල් | A රුසියාව |
| (ii) මිං | B සියම |
| (iii) රොමනොෆ් | C බුරුමය |
| (iv) කොන්බවුං | D චීනය |
| (v) චක්‍රී | E ඉන්දියාව |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

19.

| X | Y |
|---|---|
| (i) එස්ටේට්ස් ජෙනරල් | A ජර්මනිය |
| (ii) කෝර්ටීස් | B ඉන්දියාව |
| (iii) ඩූමා | C රුසියාව |
| (iv) බුන්ඩස්රාට් | D ප්‍රංශය |
| (v) ලෝක් සභා | E ස්පාඤ්ඤය |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

20.

| X | Y |
|---|---|
| (i) තිස් අවුරුදු යුද්ධය | A නැන්කිං ගිවිසුම |
| (ii) ඉංග්‍රීසි-බුරුම යුද්ධය | B පෝට්ස්මත් ගිවිසුම |
| (iii) ඉංග්‍රීසි-චීන යුද්ධය | C පැරිස් ගිවිසුම |
| (iv) ක්‍රිමියන් යුද්ධය | D වෙස්ට්ෆේලියා ගිවිසුම |
| (v) රුසියානු-ජපන් යුද්ධය | E යැන්ඩබෝ ගිවිසුම |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

21.

| X | Y |
|---|---|
| (i) මොන්ටෙස්කියු | A රාජ්‍යය සහ විප්ලවය (State and Revolution) |
| (ii) ජීන් ජැක් රූසෝ | B ලෝක ඉතිහාසයේ සිහිවටන (Glimpses of World History) |
| (iii) වී. අයි. ලෙනින් | C මයින් කාම්ප්ෆ් (මගේ සටන) |
| (iv) ඇඩොල්ෆ් හිට්ලර් | D සමාජ සම්මුතිය (Social Contract) |
| (v) ජවහර්ලාල් නේරු | E නීතියේ සාරය (Spirit of Laws) |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

22.

| X | Y |
|---|---|
| (i) නිදා සිටින යෝධයා | A ඉන්දියාව |
| (ii) භූගෝලීය ප්‍රකාශයක් පමණි | B චීනය |
| (iii) කිරුළේ මාණික්‍යය | C තුර්කිය |
| (iv) යුරෝපයේ රෝගියා | D අප්‍රිකාව |
| (v) අඳුරු මහාද්වීපය | E ඉතාලිය |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

23.

| X | Y |
|---|---|
| (i) යෙන් | A රුසියාව |
| (ii) යුවාන් | B ප්‍රංශය |
| (iii) රූබල් | C ජර්මනිය |
| (iv) ඩොයිෂ්මාර්ක් | D ජපානය |
| (v) ෆ්‍රෑන්ක් | E චීනය |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

24.

| X | Y |
|---|---|
| (i) ඉරාකය | A ඉස්ලාමාබාද් |
| (ii) ඇෆ්ගනිස්තානය | B බැංකොක් |
| (iii) පාකිස්තානය | C කත්මන්ඩු |
| (iv) නේපාලය | D කාබුල් |
| (v) තායිලන්තය | E බැග්ඩෑඩ් |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

| | X | | Y |
|---|---|---|---|
| 25. | (i) ඇබිසීනියාව | A | ඝානා |
| | (ii) ටැන්ගනයිකා | B | තායිවානය |
| | (iii) රොඩේෂියාව | C | සිම්බාබ්වේ |
| | (iv) ගෝල්ඩ් කෝස්ට් | D | ඉතියෝපියාව |
| | (v) ෆෝර්මෝසා | E | ටැන්සානියාව |

(1) DECAB (2) CEABD (3) DEACB (4) BEACD (5) EDACB (.........)

- අංක **26** සිට **30** තෙක් සෑම ප්‍රශ්නයකට ම නිවැරදි පිළිතුර තෝරා, එහි **අංකය** ඉදිරියේ ඇති **වරහන තුළ** ලියන්න.

**26. 'අවසාන රාත්‍රී භෝජනය' නම් සුප්‍රකට චිත්‍රය නිර්මාණය කළ චිත්‍ර ශිල්පියා කවු ද?**

(1) ගියෝටෝ (2) මසක්සියෝ
(3) බොටිචෙලි (4) ලියනාඩෝ ඩා වින්චි (.........)
(5) මයිකලාංජලෝ

**27. පරිණාමවාදය පිළිබඳ න්‍යාය ඉදිරිපත් කරන ලද්දේ කවරකු විසින් ද?**

(1) අයිසැක් නිවුටන් (2) ඔගස්ටස් කොම්ටේ
(3) චාල්ස් ඩාවින් (4) ෆෙඩ්රික් නිට්ෂෙ
(5) සිග්මන්ඩ් ෆ්‍රොයිඩ් (.........)

**28. ඉන්දියාවේ අවසාන බ්‍රිතාන්‍ය ප්‍රතිරාජයා කවු ද?**

(1) කර්සන් සාමි (2) මවුන්ට්බැටන් සාමි
(3) මින්ටෝ සාමි (4) අර්වින් සාමි
(5) වේවල් සාමි (.........)

**29. ඇපාර්තිඩ් නමින් හැඳින්වෙන වර්ග භේදවාදී ප්‍රතිපත්තිය අනුගමනය කළ අප්‍රිකානු රට කුමක් ද?**

(1) නයිජීරියාව (2) සෝමාලියාව
(3) ටැන්සානියාව (4) කෙන්යාව
(5) දකුණු අප්‍රිකාව (.........)

**30. සිංගප්පූරුවේ සිටි සුප්‍රසිද්ධ අගමැතිවරයා කවු ද?**

(1) සුන් යත් සෙන් (2) තුන්කු අබ්දුල් රහමන්
(3) ඌ නූ (4) නෙ වින්
(5) ලී ක්වාන් යූ (.........)

- අංක **31** සිට **35** තෙක් එක් එක් ප්‍රශ්නයට දක්වා ඇති **(A)**, **(B)**, **(C)** හා **(D)** යන ප්‍රතිචාර හතර අතුරෙන් **එකක්** හෝ **කිහිපයක්** නිවැරදිය. නිවැරදි ප්‍රතිචාරය හෝ ප්‍රතිචාර තෝරා,

**(A)** සහ **(B)** පමණක් නිවැරදි නම් ........................................ **1** ද,
**(B)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **2** ද,
**(C)** සහ **(D)** පමණක් නිවැරදි නම් ........................................ **3** ද,
**(A)** සහ **(C)** පමණක් නිවැරදි නම් ........................................ **4** ද,
ප්‍රතිචාර **එකක් හෝ දෙකකට වැඩි** සංඛ්‍යාවක් හෝ නිවැරදි නම් ......... **5** ද, **වරහන තුළ** ලියන්න.

| උපදෙස් සම්පිණ්ඩනය | | | | |
|---|---|---|---|---|
| 1 | 2 | 3 | 4 | 5 |
| (A) සහ (B) පමණක් නිවැරදි ය. | (B) සහ (C) පමණක් නිවැරදි ය. | (C) සහ (D) පමණක් නිවැරදි ය. | (A) සහ (C) පමණක් නිවැරදි ය. | ප්‍රතිචාර එකක් හෝ දෙකකට වැඩි සංඛ්‍යාවක් නිවැරදි ය. |

**31. පහත දැක්වෙන කරුණු අතුරෙන් ජාතික රාජ්‍යයක ලක්ෂණ කවරේ ද?**

(A) ශක්තිමත් ස්ථාවර හමුදාව
(B) බලවත් වැඩවසම් රදළ ප්‍රභූ පන්තිය
(C) ශක්තිමත් මධ්‍යම ආණ්ඩුව
(D) ජාතිවාදය නොපැවතීම (.........)

**32. පෙරදිග පෘතුගීසි අධිරාජ්‍යය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය/ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) අල්ෆොන්සෝ ද අල්බකර්ක් පෙරදිග පෘතුගීසි අධිරාජ්‍යයේ ප්‍රධාන නිර්මාපකයකු ලෙස සලකනු ලැබේ.
(B) පෘතුගීසි පෙරදිග අධිරාජ්‍යයේ මූලස්ථානය ගෝවේහි පිහිටුවා තිබුණි.
(C) පෘතුගීසිහු 1623 දී ජාවා දූපත යටත් කර ගත්හ.
(D) 1796 දී ලන්දේසීන් විසින් පෘතුගීසින් ජාවා දිවයිනෙන් පළවා හරින ලදී. (.........)

[පස්වැනි පිටුව බලන්න.

**33.** **කාර්මික විප්ලවය සම්බන්ධයෙන් පහත දැක්වෙන කවර ප්‍රකාශය/ප්‍රකාශ නිවැරදි වේ ද?**

(A) කාර්මික විප්ලවය යන්නෙන් අදහස් කරන්නේ අත් යන්ත්‍ර භාවිතයෙන් බලමූල යන්ත්‍ර භාවිතයට මාරු වීමේ ක්‍රියාදාමයයි.
(B) කාර්මික විප්ලවය එංගලන්තයේ ආරම්භ විය.
(C) පේෂ කර්මාන්තය සම්බන්ධයෙන් නව උත්පාදන මාලාවක් සිදු කරන ලදී.
(D) කර්මාන්තශාලා ක්‍රමය කාර්මික විප්ලවයේ ප්‍රධාන ලක්ෂණයකි. (.........)

**34.** **පහත දැක්වෙන්නන් අතුරෙන් සියම තුළ නවීකරණ ක්‍රියාමාර්ගයක් අනුගමනය කළ පාලකයා/පාලකයන් කවු ද/කවුරුන් ද?**

(A) බග්යිදාව්
(B) මොංකුට්
(C) චූලාලොංකෝර්න්
(D) මින්දොන් මින් (.........)

**35.** **පහත දැක්වෙන්නන් අතුරෙන් ඉන්දියාවේ ජනාධිපතිවරයා/වරු කවු ද/කවුරුන් ද?**

(A) මෝති ලාල් නේරු
(B) ජවහර්ලාල් නේරු
(C) රාජේන්ද්‍ර ප්‍රසාද්
(D) සර්වපල්ලි රාධක්‍රිෂ්ණන් (.........)

- අංක **36** සිට **40** තෙක් ප්‍රශ්නවලට අදාළ ව ප්‍රකාශ දෙක බැගින් දී ඇත. එක් එක් ප්‍රශ්නය සම්බන්ධයෙන් දී ඇති ප්‍රකාශ යුගලයට හොඳින් ම ගැළපෙනුයේ පහත වගුවෙහි දැක්වෙන **1, 2, 3, 4** සහ **5** යන කවර ප්‍රකාශ යුගලය දැ'යි තෝරා ඊට අදාළ **අංකය වරහන් තුළ** ලියන්න.

| | **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** |
|---|---|---|
| **1.** | නිවැරදි ය. | වැරදි ය. |
| **2.** | නිවැරදි ය. | නිවැරදි ය. |
| **3.** | වැරදි ය. | වැරදි ය. |
| **4.** | වැරදි ය. | නිවැරදි ය. |
| **5.** | නිවැරදි ය. | නිවැරදි වන අතර **පළමුවැන්න** මැනවින් පහදා දෙයි. |

| **පළමුවැනි ප්‍රකාශය** | **දෙවැනි ප්‍රකාශය** | |
|---|---|---|
| **36.** උත්කෘෂ්ට විප්ලවය, දෙවැනි ජේම්ස් රජු බලයෙන් පහකොට එංගලන්තයේ සීමාසහිත රාජාණ්ඩුවක් ස්ථාපිත කළේ ය. | උත්කෘෂ්ට විප්ලවය විසින් එංගලන්තය තුළ පාර්ලිමේන්තු ආණ්ඩුක්‍රමයේ මූලධර්ම හා නීතියේ ආධිපත්‍යය තහවුරු කරන ලදැයි සැලකේ. | (........) |
| **37.** ප්‍රංශ විප්ලවයේ ප්‍රධාන කාර්ය සිද්ධි අතුරෙන් එකක් නම් මිනිස් අයිතිවාසිකම් පිළිබඳ ප්‍රකාශනයයි. | ප්‍රංශ විප්ලවය ආරක්ෂා කරමින් ලියන ලද 'මිනිස් අයිතිවාසිකම්' (The Rights of Man) නම් සුප්‍රසිද්ධ ග්‍රන්ථය තෝමස් පේන් විසින් රචනා කරන ලදී. | (........) |
| **38.** රමොන් මැග්සේසේ ස්පාඤ්ඤ විරෝධී පිලිපීන ජාතික ව්‍යාපාරයේ නායකයා විය. | 1946 දී අමෙරිකා එක්සත් ජනපදයෙන් නිදහස ලබා ගැනීමෙන් පසුව පිලිපීනයේ පිහිටුවන ලද සමූහාණ්ඩුවේ පළමුවැනි ජනාධිපතිවරයා ෆර්ඩිනන්ඩ් මාර්කෝස් ය. | (........) |
| **39.** 1917 බැල්ෆර් ප්‍රකාශයෙන් බ්‍රිතාන්‍යයෝ පලස්තීනය තුළ යුදෙව් රාජ්‍යයක් ඇති කිරීම සඳහා ආධාර ලබා දෙන බවට පොරොන්දු වූහ. | 1948 දී බුරුමය බ්‍රිතාන්‍ය පාලනයෙන් නිදහස ලබා ගැනීමෙන් පසු අවුංසාන් එහි පළමුවැනි ජනාධිපතිවරයා ලෙස පත් විය. | (........) |
| **40.** පළමුවැනි ලෝක යුද්ධය අවසන් වූ වහාම ජාත්‍යන්තර සාමය හා ආරක්ෂාව පවත්වා ගෙන යාම සඳහා එක්සත් ජාතීන්ගේ සංවිධානය පිහිටුවනු ලැබී ය. | මාර්ෂල් සැලැස්මේ ප්‍රධාන අරමුණ වූයේ දෙවන ලෝක යුද්ධයෙන් විනාශයට පත් වූ යුරෝපා රටවලට ආර්ථික ආධාර ලබා දීමයි. | (........) |

* *

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

ඉතිහාසය II (II කොටස)
வரலாறு II (பகுதி II)
History II (Part II)

25-C S II

**නූතන ලෝක ඉතිහාසය - ක්‍රි.ව. 1500 සිට 1989 දක්වා**

**උපදෙස්:**

* **පළමුවැනි** ප්‍රශ්නයටත් තවත් ප්‍රශ්න **තුනකටත්** පිළිතුරු සපයන්න.
(**පළමුවැනි** ප්‍රශ්නයට පිළිතුරු සැපයීම සඳහා **ලෝකයේ දළ සිතියමක්** සපයා ඇත.)

## II කොටස

1. ඔබට සපයා ඇති සිතියමේ පහත සඳහන් **සියලු ම ස්ථාන ලකුණු කොට නම් කරන්න.** ඒවායින් කැමති **දෙකක්** පිළිබඳ ව කෙටි ඓතිහාසික සටහන් ලියන්න.

(i) ඇපලාචියන් කඳු (ii) බ්‍රසීලය (iii) රතු මුහුද (iv) නයිල් ගඟ
(v) කේප්ටවුන් (vi) නේපාලය (vii) මලක්කා සමුද්‍ර සන්ධිය (viii) පිලිපීන දූපත්

*(නිවැරදි ව ලකුණු කිරීමට හා නම් කිරීමට ලකුණු 01 බැගිනි; කෙටි ඓතිහාසික සටහනකට ලකුණු 05 බැගිනි)*

2. පහළොස්වැනි හා දහසයවැනි සියවස්වල ඇති වූ දේශ ගවේෂණ යුරෝපය තුළ හා ඉන් පිටත විශාල වෙනස්වීම් ඇති වීමට බලපෑ ආකාරය පරීක්ෂා කරන්න. (ලකුණු 14 යි)

3. "ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුව ආගමික ක්ෂේත්‍රය තුළ හටගත් නමුත් එය අනෙකුත් ක්ෂේත්‍ර කෙරෙහි ද බලපෑමක් ඇති කළේ ය."

(i) ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුව ආරම්භ වූ රට නම් කරන්න. (ලකුණු 01 යි)
(ii) ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුවේ නායකයන් **දෙදෙනකු** නම් කරන්න. (ලකුණු 02 යි)
(iii) ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුව ඇති වීමට තුඩු දුන් ආසන්නතම හේතුව විස්තර කරන්න. (ලකුණු 03 යි)
(iv) ප්‍රොතෙස්තාන්ත රෙපරමාදුවෙන් උද්ගත වූ ප්‍රතිඵල ඇසුරෙන් ඉහත සඳහන් ප්‍රකාශය සාකච්ඡා කරන්න. (ලකුණු 08 යි)

4. අමෙරිකන් විප්ලවය ඇති වීමට තුඩු දුන් ආසන්න හා දිගුකාලීන හේතු පරීක්ෂා කරන්න. (ලකුණු 14 යි)

5. "මෙයිජි ප්‍රතිස්ථාපනය නූතන ජපන් ඉතිහාසයේ සන්ධිස්ථානයක් සනිටුහන් කරයි."

(i) මෙයිජි ප්‍රතිස්ථාපනය ඇති වන විට ජපානයේ පැවැති පාලන ක්‍රමය හඳුන්වන ලද්දේ කුමන නමකින් ද? (ලකුණු 01 යි)
(ii) 1853 දී ජපානයට ගොඩබට අමෙරිකානු ජාතික නාවික හමුදා නිලධාරියා නම් කරන්න. (ලකුණු 01 යි)
(iii) මෙයිජි ප්‍රතිස්ථාපනය ඇති වීමට තුඩු දුන් ආර්ථික හා දේශපාලන පසුබිම පරීක්ෂා කරන්න. (ලකුණු 06 යි)
(iv) මෙයිජි ප්‍රතිස්ථාපනයේ වැදගත්කම කෙරෙහි අවධානය යොමු කරමින් ඉහත සඳහන් ප්‍රකාශය සාකච්ඡා කරන්න. (ලකුණු 06 යි)

6. "අන්තර් යුද්ධ සමයේ ඒකාධිපති පාලන තන්ත්‍ර නැගී ඒම හේතු කොටගෙන දෙවැනි ලෝක යුද්ධය ඇති වීම වැළැක්විය නොහැකි විය."

(i) අන්තර් යුද්ධ සමයේ ඉතාලියේ හා ජර්මනියේ පැවැති ඒකාධිපති පාලන තන්ත්‍ර හඳුන්වන ලද්දේ කුමන නම්වලින් ද? (ලකුණු 02 යි)
(ii) එම ඒකාධිපති පාලන තන්ත්‍රවල නායකයන් **දෙදෙනා** නම් කරන්න. (ලකුණු 02 යි)
(iii) දෙවැනි ලෝක යුද්ධය ඇති වීමට තුඩු දුන් සියලු සාධක සැලකිල්ලට ගනිමින් ඉහත සඳහන් ප්‍රකාශය පරීක්ෂා කරන්න. (ලකුණු 10 යි)

[හත්වැනි පිටුව බලන්න.

7. **එක්කෝ (A)** කොටසට **නැතහොත් (B)** කොටසට පමණක් පිළිතුරු සපයන්න.

**(A)** 1919 සිට 1947 දක්වා ඉන්දියානු ජාතික ව්‍යාපාරයේ ප්‍රධාන අවස්ථා සැකෙවින් පරීක්ෂා කරන්න. (ලකුණු 14 යි)

**(B)** ඉන්දුනීසියාවේ ජාතික ව්‍යාපාරයෙහි ලා අච්මඩ් සුකර්ණෝ විසින් ඉටු කරන ලද කාර්යභාරය විවේචනාත්මක ව විමසන්න. (ලකුණු 14 යි)

8. පහත සඳහන් මාතෘකා අතුරෙන් ඕනෑම **දෙකක** ඓතිහාසික වැදගත්කම පිළිබඳ ව කෙටි සටහන් ලියන්න.
   (i) යුරෝපා සම්මේලන ක්‍රමය
   (ii) නව අධිරාජ්‍යවාදය
   (iii) කියුබානු විප්ලවය
   (iv) චීන සංස්කෘතික විප්ලවය
   (v) නිරවි යුද්ධය
   (vi) යුරෝපා සංගමය

(එක් කෙටි සටහනකට ලකුණු 07 බැගින්)

9. සෝවියට් සංගමයේ පරිහානියට හා බිඳ වැටීමට තුඩු දුන් සංකල්පමය, ආර්ථික හා දේශපාලන සාධක විග්‍රහ කරන්න. (ලකුණු 14 යි)

* * *

AL/2015/25-C/S-II



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2015 අගෝස්තු
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2015 ஓகஸ்ற்
General Certificate of Education (Adv. Level) Examination, August 2015

| | | | |
|---|---|---|---|
| ඉතිහාසය<br>வரலாறு<br>History | II<br>II<br>II | 25-C | S |

ප්‍රශ්න අංකය
வினா இல.
Question No. } 1

විභාග අංකය
சுட்டெண்
Index No. } ..............................



